

# අ.පො.ස (සා.පෙළ) විභාගය - 2011

# ඇගයීම් වාර්තාව

# 33 - ඉතිහාසය





පර්යේෂණ හා සංවර්ධන ශාඛාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව,
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව.

# අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2011

## ඇගයීම් වාර්තාව

# 33 - ඉතිහාසය




**පර්යේෂණ හා සංවර්ධන ශාඛාව
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව.**

# හැඳින්වීම

ශ්‍රී ලංකාවේ ප්‍රසිද්ධ විභාග අතුරින් වැඩි ම අයදුම්කරුවන් සංඛ්‍යාවක් පෙනී සිටින්නේ අ.පො.ස.(සා.පෙළ) විභාගය සඳහා ය. ජාතික මට්ටමින් පැවැත්වෙන මෙම විභාගයේ ප්‍රතිඵල මත නිකුත් කෙරෙන සහතිකය, උසස් අධ්‍යාපනය සඳහා සුදුස්සන් තෝරා ගැනීමට පමණක් නොව මධ්‍යම මට්ටමේ රැකියා අවස්ථා ලබාගැනීමට ද ජාතික හා ජාත්‍යන්තර විශ්වවිද්‍යාලවල සමහර පාඨමාලා හැදෑරීමට මූලික සුදුසුකමක් ලෙස සැලකෙන මිනුම් දණ්ඩක් වශයෙන් ද පිළිගැනේ. මෙලෙස පිළිගැනෙන්නේ මෙම විභාගයේ ඇති වලංගුතාව හා විශ්වසනීයතාව මෙන් ම ඉහළ ගුණාත්මක බව ද හේතුවෙනි.

මෙම විභාගයෙන් උසස් සාධන මට්ටමක් ලබා ගැනීම සඳහා සිසුහු ද ඔවුන්ගේ එම අපේක්ෂා සපුරාලීම සඳහා ගුරුවරු හා දෙමව්පියෝ ද දැඩි වෙහෙසක් දරති. මෙම ඇගයීම් වාර්තාව සකස්කර ඇත්තේ ඔවුන්ගේ එම අපේක්ෂා ඉටුකරගැනීම පිණිස ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ සහාය දීමක් වශයෙනි. මෙම ඇගයීම් වාර්තාවේ ඇතුළත් තොරතුරු විභාග අපේක්ෂකයින්ට, ගුරු භවතුන්ට, විදුහල්පතිවරුන්ට, ගුරු උපදේශක මහත්ම මහත්මීන්ට, විෂයභාර අධ්‍යක්ෂවරුන්ට, දෙගුරුන්ට හා අධ්‍යාපන පර්යේෂකයින්ට එක සේ ප්‍රයෝජනවත් වනු නොඅනුමාන ය. මේ නිසා මෙම වාර්තාව වැඩි පිරිසකගේ පරිශීලනය සඳහා පුස්තකාලයට යොමු කිරීම වඩාත් සුදුසු වේ.

මෙම ඇගයීම් වාර්තාව කොටස් තුනකින් යුක්ත වන අතර විෂය අභිමතාර්ථ සහ විෂය සාධනය පිළිබඳ සංඛ්‍යානමය තොරතුරු ද මෙම විෂයයෙහි ප්‍රශ්න පත්‍ර ඇසුරෙන් අයදුම්කරුවන්ගේ සාධනය, එක් එක් ප්‍රශ්නය සඳහා වෙන් වෙන්ව ද මෙහි I කොටසෙහි ඇතුළත් වේ. ඇගයීම් හා පරීක්ෂණ ක්ෂේත්‍රයේ භාවිත වන සම්භාව්‍ය පරීක්ෂණ න්‍යාය (Classical Test Theory) සහ අයිතම ප්‍රතිචාර න්‍යාය (Item Response Theory) පදනම් කරගෙන, විභාග දෙපාර්තමේන්තුවේ පර්යේෂණ හා සංවර්ධන ශාඛාව මඟින් මෙම විශ්ලේෂණ සිදුකර ඇත.

ඉතිහාසය විෂයයෙහි I හා II ප්‍රශ්න පත්‍ර සඳහා අපේක්ෂිත පිළිතුරු, ලකුණු දීමේ පටිපාටි, පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ, නිගමන හා ප්‍රතිපෝෂණය සඳහා වූ යෝජනාවලින් මෙම වාර්තාවෙහි II කොටස සමන්විත වේ.

ප්‍රශ්න පත්‍රවල එක් එක් ප්‍රශ්නයට පිළිතුරු සැපයීමේ දී අපේක්ෂකයන් සැලකිලිමත් විය යුතු කරුණු ද ඉගෙනුම් ඉගැන්වීම් කාර්යය පිළිබඳ අදහස් හා යෝජනා ද මෙම වාර්තාවෙහි III කොටසෙහි ඇතුළත් කර ඇත. විවිධ නිපුණතා හා එම නිපුණතා මට්ටම්වලට ළඟාවීම සඳහා ඉගෙනුම් හා ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කරගත යුතු ආකාරය පිළිබඳ ව මෙයින් මහත් පිටිවහලක් ලැබෙනු ඇතැයි සිතමි.

මෙම වාර්තාවේ ගුණාත්මක බව වැඩි දියුණු කිරීම සඳහා එලදායී අදහස් හා යෝජනා අප වෙත යොමුකරන ලෙස ඉල්ලමි. මෙම වාර්තාව සකස් කිරීම සඳහා කැප වූ පාලක පරීක්ෂකවරුන් ඇතුළු සම්පත් දායකයින්ටත් RD ආකෘති මගින් තොරතුරු සැපයූ ප්‍රධාන/ අතිරේක ප්‍රධාන/ සහකාර පරීක්ෂකවරුන්ටත් ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ නිලධාරීන් ඇතුළු කාර්ය මණ්ඩලයේ සියලු ම දෙනාටත් මාගේ හෘදයංගම ස්තුතිය පළ කරමි.

ඩබ්ලිව්.එම්.එන්.ජේ. පුෂ්පකුමාර
විභාග කොමසාරිස් ජනරාල්

2012 ඔක්තෝබර් 20
පර්යේෂණ හා සංවර්ධන ශාඛාව,
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව,
පැලවත්ත,
බත්තරමුල්ල.

| | | |
|---|---|---|
| **උපදේශකත්වය** | : | ඩබ්ලිව්.එම්.එන්.ජේ. පුෂ්පකුමාර මයා<br>විභාග කොමසාරිස් ජනරාල් |
| **මෙහෙයවීම හා සංවිධානය** | : | ගයාත්‍රි අබේගුණසේකර මිය<br>විභාග කොමසාරිස්<br>(පර්යේෂණ හා සංවර්ධන) |
| **සම්බන්ධීකරණය හා සංස්කරණය** | : | ජේ.ඒ.ජේ.ආර්. ජයකොඩි මයා<br>සහකාර විභාග කොමසාරිස් |
| **සැකසුම් කමිටුව** | : | එස්.ඒ.සී. දිසානායක මයා<br>විශ්‍රාමික ව්‍යාපෘති නිලධාරි<br>ජාතික අධ්‍යාපන ආයතනය |
| | | එස්.එම්. දයානන්ද මයා<br>විශ්‍රාමික ව්‍යාපෘති නිලධාරි<br>ජාතික අධ්‍යාපන ආයතනය |
| | | ආර්.ඒ. චන්ද්‍රසිරි මයා<br>ගුරු උපදේශක<br>කලාප අධ්‍යාපන කාර්යාලය<br>මිනුවන්ගොඩ |
| | | ආර්.එම්. සත්‍යකුමාර් මයා<br>ගුරු උපදේශක<br>කලාප අධ්‍යාපන කාර්යාලය<br>දූපත් |
| | | එස්.ආර්. අලව්ව මිය<br>ගුරු සේවය<br>කාන්තා විද්‍යාලය<br>කොළඹ 07 |
| **පරිගණක පිටපත සැකසුම** | : | කේ.පී.ඩී.ඒ.එම්. දිසානායක මිය<br>තොරතුරු හා සන්නිවේදන තාක්ෂණ සහකාර |
| | | ඩබ්ලිව්.ඒ.ඩී. චතුරිකා දිසානායක මෙනවිය<br>පරිගණක දත්ත සටහන් ක්‍රියාකරු |

# ඇතුළත පිටු

පිටු අංකය

## I කොටස

# 1. විෂය අභිමතාර්ථ හා විෂය සාධනය පිළිබඳ තොරතුරු

## 1.1. විෂය අභිමතාර්ථ

- ★ ඓතිහාසික විකාශය හා ප්‍රවණතා පිළිබඳ විමර්ශනයෙහි යෙදෙයි.
- ★ වර්තමානය තේරුම් ගැනීම සඳහා අතීතය පිළිබඳ විමර්ශනාත්මක දැනුම උපයෝගී කර ගනියි.
- ★ ජාතික ප්‍රශ්න දෙස තුලනාත්මක ව විමසා බලමින් කටයුතු කරයි.
- ★ වැදගත් ඓතිහාසික පුද්ගලයන්ගේ චරිතාපදාන ආදර්ශයට ගෙන කටයුතු කරයි.
- ★ ජාතික අනන්‍යතාව හඳුනාගෙන ඒවා අගය කරමින් චරිතායනය කරයි.
- ★ ඉතිහාසයේ අත්දැකීම් වර්තමාන සංසිද්ධි සඳහා ඵලදායි ලෙස භාවිත කරයි.
- ★ ශ්‍රී ලංකාවේ ඓතිහාසික වටිනාකම් හා හර පද්ධති පිළිබඳ අභිමානවත් හැඟුමින් කටයුතු කරයි.
- ★ විචාරශීලී හා විවේචනාත්මක චින්තන සංකල්ප වර්ධනය කර ගනියි.
- ★ ඓතිහාසික තොරතුරු ඇසුරින් ස්ථාන හඳුනාගැනීමේ හැකියාව දියුණු කරයි.

## 1.2. විෂය සාධනය පිළිබඳ සංඛ්‍යානමය තොරතුරු

### 1.2.1 විෂයය සඳහා පෙනී සිටි අයදුම්කරුවන් සංඛ්‍යාව

| මාධ්‍යය | පාසල් | පෞද්ගලික | එකතුව |
|---|---|---|---|
| සිංහල | 224,605 | 5,398 | 230,003 |
| දෙමළ | 65,484 | 11,223 | 76,707 |
| ඉංග්‍රීසි | 7,475 | 2,495 | 9,970 |
| එකතුව | **297,564** | **19,116** | **316,680** |

වගුව 1

### 1.2.2 අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය

| ශ්‍රේණිය | පාසල් අයදුම්කරුවන් | | පෞද්ගලික අයදුම්කරුවන් | | එකතුව | ප්‍රතිශතය |
|---|---|---|---|---|---|---|
| | සංඛ්‍යාව | ප්‍රතිශතය | සංඛ්‍යාව | ප්‍රතිශතය | | |
| A | 24,558 | 8.25 | 238 | 1.24 | 24,796 | 7.83 |
| B | 23,865 | 8.03 | 368 | 1.93 | 24,233 | 7.65 |
| C | 55,439 | 18.63 | 1,692 | 8.85 | 57,131 | 18.04 |
| S | 89,098 | 29.94 | 6,624 | 34.65 | 95,722 | 30.23 |
| W | 104,604 | 35.15 | 10,194 | 53.33 | 114,798 | 36.25 |
| එකතුව | **297,564** | **100.00** | **19,116** | **100.00** | **316,680** | **100.00** |

වගුව 2

1.2.3 ප්‍රථමවරට පෙනී සිටි පාසල් අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය - දිස්ත්‍රික්ක අනුව

| දිස්ත්‍රික්කය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 1. කොළඹ | 29907 | 5195 | 17.37 | 3615 | 12.09 | 6553 | 21.91 | 7436 | 24.86 | 22799 | 76.23 | 7108 | 23.77 |
| 2. ගම්පහ | 25417 | 2582 | 10.16 | 2394 | 9.42 | 5188 | 20.41 | 7279 | 28.64 | 17443 | 68.63 | 7974 | 31.37 |
| 3. කළුතර | 14257 | 1606 | 11.26 | 1528 | 10.72 | 3025 | 21.22 | 3904 | 27.38 | 10063 | 70.58 | 4194 | 29.42 |
| 4. මහනුවර | 19325 | 1906 | 9.86 | 1716 | 8.88 | 3773 | 19.52 | 5256 | 27.20 | 12651 | 65.46 | 6674 | 34.54 |
| 5. මාතලේ | 6343 | 465 | 7.33 | 470 | 7.41 | 1186 | 18.70 | 1809 | 28.52 | 3930 | 61.96 | 2413 | 38.04 |
| 6. නුවරඑළිය | 9599 | 445 | 4.64 | 595 | 6.20 | 1714 | 17.86 | 3002 | 31.27 | 5756 | 59.96 | 3843 | 40.04 |
| 7. ගාල්ල | 15040 | 1652 | 10.98 | 1440 | 9.57 | 3062 | 20.36 | 4092 | 27.21 | 10246 | 68.13 | 4794 | 31.88 |
| 8. මාතර | 11143 | 1406 | 12.62 | 1133 | 10.17 | 2333 | 20.94 | 3024 | 27.14 | 7896 | 70.86 | 3247 | 29.14 |
| 9. හම්බන්තොට | 8719 | 653 | 7.49 | 753 | 8.64 | 1754 | 20.12 | 2602 | 29.84 | 5762 | 66.09 | 2957 | 33.91 |
| 10. යාපනය | 10103 | 704 | 6.97 | 814 | 8.06 | 1824 | 18.05 | 2882 | 28.53 | 6224 | 61.61 | 3879 | 38.39 |
| 11. කිලිනොච්චි | 1974 | 29 | 1.47 | 65 | 3.29 | 217 | 10.99 | 514 | 26.04 | 825 | 41.79 | 1149 | 58.21 |
| 12. මන්නාරම | 1569 | 76 | 4.84 | 123 | 7.84 | 344 | 21.92 | 562 | 35.82 | 1105 | 70.43 | 464 | 29.57 |
| 13. වව්නියාව | 2842 | 155 | 5.45 | 199 | 7.00 | 577 | 20.30 | 946 | 33.29 | 1877 | 66.05 | 965 | 33.95 |
| 14. මුලතිව් | 1535 | 35 | 2.28 | 58 | 3.78 | 206 | 13.42 | 462 | 30.10 | 761 | 49.58 | 774 | 50.42 |
| 15. මඩකලපුව | 6639 | 482 | 7.26 | 484 | 7.29 | 1244 | 18.74 | 2019 | 30.41 | 4229 | 63.70 | 2410 | 36.30 |
| 16. අම්පාර | 8971 | 533 | 5.94 | 663 | 7.39 | 1715 | 19.12 | 3097 | 34.52 | 6008 | 66.97 | 2963 | 33.03 |
| 17. ත්‍රිකුණාමලය | 5244 | 247 | 4.71 | 329 | 6.27 | 874 | 16.67 | 1709 | 32.59 | 3159 | 60.24 | 2085 | 39.76 |
| 18. කුරුණෑගල | 21452 | 1748 | 8.15 | 1864 | 8.69 | 4436 | 20.68 | 6629 | 30.90 | 14677 | 68.42 | 6775 | 31.58 |
| 19. පුත්තලම | 9235 | 638 | 6.91 | 687 | 7.44 | 1732 | 18.75 | 2786 | 30.17 | 5843 | 63.27 | 3392 | 36.73 |
| 20. අනුරාධපුරය | 11524 | 686 | 5.95 | 831 | 7.21 | 2253 | 19.55 | 3535 | 30.68 | 7305 | 63.39 | 4219 | 36.61 |
| 21. පොළොන්නරුව | 5271 | 302 | 5.73 | 375 | 7.11 | 815 | 15.46 | 1498 | 28.42 | 2990 | 56.73 | 2281 | 43.27 |
| 22. බදුල්ල | 12047 | 728 | 6.04 | 933 | 7.74 | 2434 | 20.20 | 3563 | 29.58 | 7658 | 63.57 | 4389 | 36.43 |
| 23. මොනරාගල | 6582 | 250 | 3.80 | 361 | 5.48 | 1035 | 15.72 | 1845 | 28.03 | 3491 | 53.04 | 3091 | 46.96 |
| 24. රත්නපුරය | 14527 | 1144 | 7.87 | 1202 | 8.27 | 2803 | 19.30 | 4106 | 28.26 | 9255 | 63.71 | 5272 | 36.29 |
| 25. කෑගල්ල | 10722 | 861 | 8.03 | 1072 | 10.00 | 2361 | 22.02 | 3145 | 29.33 | 7439 | 69.38 | 3283 | 30.62 |
| **සමස්ත දිවයින** | **269987** | **24528** | **9.08** | **23704** | **8.78** | **53458** | **19.80** | **77702** | **28.78** | **179392** | **66.44** | **90595** | **33.56** |

වගුව 3

1.2.4 ප්‍රථමවරට පෙනී සිටි පාසල් අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය - අධ්‍යාපන කලාප අනුව

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 1. කොළඹ | 14075 | 3348 | 23.79 | 1866 | 13.26 | 2928 | 20.80 | 2937 | 20.87 | 11079 | 78.71 | 2996 | 21.29 |
| 2. හෝමාගම | 3460 | 254 | 7.34 | 314 | 9.08 | 717 | 20.72 | 988 | 28.55 | 2273 | 65.69 | 1187 | 34.31 |
| 3. ශ්‍රී ජයවර්ධනපුර | 6821 | 934 | 13.69 | 844 | 12.37 | 1655 | 24.26 | 1927 | 28.25 | 5360 | 78.58 | 1461 | 21.42 |
| 4. පිළියන්දල | 5551 | 659 | 11.87 | 591 | 10.65 | 1253 | 22.57 | 1584 | 28.54 | 4087 | 73.63 | 1464 | 26.37 |
| 5. ගම්පහ | 7409 | 1078 | 14.55 | 788 | 10.64 | 1540 | 20.79 | 1937 | 26.14 | 5343 | 72.11 | 2066 | 27.89 |
| 6 මිනුවන්ගොඩ | 4718 | 335 | 7.10 | 412 | 8.73 | 982 | 20.81 | 1464 | 31.03 | 3193 | 67.68 | 1525 | 32.32 |
| 7. මීගමුව | 6784 | 577 | 8.51 | 564 | 8.31 | 1295 | 19.09 | 1991 | 29.35 | 4427 | 65.26 | 2357 | 34.74 |
| 8. කැලණිය | 6506 | 592 | 9.10 | 630 | 9.68 | 1371 | 21.07 | 1887 | 29.00 | 4480 | 68.86 | 2026 | 31.14 |
| 9. කළුතර | 6965 | 714 | 10.25 | 711 | 10.21 | 1541 | 22.12 | 1862 | 26.73 | 4828 | 69.32 | 2137 | 30.68 |
| 10. මතුගම | 2817 | 334 | 11.86 | 318 | 11.29 | 556 | 19.74 | 817 | 29.00 | 2025 | 71.88 | 792 | 28.12 |
| 11. හොරණ | 4475 | 558 | 12.47 | 499 | 11.15 | 928 | 20.74 | 1225 | 27.37 | 3210 | 71.73 | 1265 | 28.27 |
| 12. මහනුවර | 6906 | 1424 | 20.62 | 910 | 13.18 | 1570 | 22.73 | 1561 | 22.60 | 5465 | 79.13 | 1441 | 20.87 |
| 13. දෙනුවර | 2141 | 69 | 3.22 | 124 | 5.79 | 385 | 17.98 | 639 | 29.85 | 1217 | 56.84 | 924 | 43.16 |
| 14. ගම්පොල | 3193 | 125 | 3.91 | 182 | 5.70 | 508 | 15.91 | 956 | 29.94 | 1771 | 55.47 | 1422 | 44.53 |
| 15. තෙල්දෙණිය | 1628 | 48 | 2.95 | 107 | 6.57 | 295 | 18.12 | 435 | 26.72 | 885 | 54.36 | 743 | 45.64 |
| 16. වත්තේගම | 2440 | 126 | 5.16 | 182 | 7.46 | 440 | 18.03 | 696 | 28.52 | 1444 | 59.18 | 996 | 40.82 |
| 17. කටුගස්තොට | 3017 | 114 | 3.78 | 211 | 6.99 | 575 | 19.06 | 969 | 32.12 | 1869 | 61.95 | 1148 | 38.05 |
| 18. මාතලේ | 3378 | 377 | 11.16 | 308 | 9.12 | 682 | 20.19 | 926 | 27.41 | 2293 | 67.88 | 1085 | 32.12 |
| 19. ගලේවෙල | 1977 | 52 | 2.63 | 107 | 5.41 | 342 | 17.30 | 608 | 30.75 | 1109 | 56.10 | 868 | 43.90 |
| 20. නාඋල | 499 | 21 | 4.21 | 36 | 7.21 | 80 | 16.03 | 158 | 31.66 | 295 | 59.12 | 204 | 40.88 |
| 21. විල්ගමුව | 489 | 15 | 3.07 | 19 | 3.89 | 82 | 16.77 | 117 | 23.93 | 233 | 47.65 | 256 | 52.35 |
| 22. නුවරඑළිය | 2605 | 84 | 3.22 | 120 | 4.61 | 422 | 16.20 | 921 | 35.36 | 1547 | 59.39 | 1058 | 40.61 |
| 23. කොත්මලේ | 1294 | 65 | 5.02 | 91 | 7.03 | 254 | 19.63 | 421 | 32.53 | 831 | 64.22 | 463 | 35.78 |
| 24. හැටන් | 2822 | 127 | 4.50 | 185 | 6.56 | 564 | 19.99 | 826 | 29.27 | 1702 | 60.31 | 1120 | 39.69 |
| 25. වලපනේ | 1305 | 58 | 4.44 | 62 | 4.75 | 209 | 16.02 | 409 | 31.34 | 738 | 56.55 | 567 | 43.45 |
| 26. හඟුරන්කෙත | 1573 | 111 | 7.06 | 137 | 8.71 | 265 | 16.85 | 425 | 27.02 | 938 | 59.63 | 635 | 40.37 |
| 27. ගාල්ල | 6741 | 1017 | 15.09 | 763 | 11.32 | 1395 | 20.69 | 1704 | 25.28 | 4879 | 72.38 | 1862 | 27.62 |
| 28. ඇල්පිටිය | 3044 | 151 | 4.96 | 200 | 6.57 | 589 | 19.35 | 902 | 29.63 | 1842 | 60.51 | 1202 | 39.49 |
| 29. අම්බලන්ගොඩ | 3410 | 348 | 10.21 | 314 | 9.21 | 709 | 20.79 | 929 | 27.24 | 2300 | 67.45 | 1110 | 32.55 |
| 30. උඩුගම | 1845 | 136 | 7.37 | 163 | 8.83 | 369 | 20.00 | 557 | 30.19 | 1225 | 66.40 | 620 | 33.60 |
| 31. මාතර | 4850 | 935 | 19.28 | 583 | 12.02 | 1067 | 22.00 | 1201 | 24.76 | 3786 | 78.06 | 1064 | 21.94 |
| 32. අකුරැස්ස | 1947 | 148 | 7.60 | 182 | 9.35 | 414 | 21.26 | 563 | 28.92 | 1307 | 67.13 | 640 | 32.87 |
| 33. මුලටියන-හක්මණ | 2085 | 192 | 9.21 | 214 | 10.26 | 445 | 21.34 | 596 | 28.59 | 1447 | 69.40 | 638 | 30.60 |
| 34. මොරවක-දෙනියාය | 2261 | 131 | 5.79 | 154 | 6.81 | 407 | 18.00 | 664 | 29.37 | 1356 | 59.97 | 905 | 40.03 |

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 35. තංගල්ල | 2470 | 160 | 6.48 | 222 | 8.99 | 515 | 20.85 | 773 | 31.30 | 1670 | 67.61 | 800 | 32.39 |
| 36. හම්බන්තොට | 3761 | 190 | 5.05 | 249 | 6.62 | 737 | 19.60 | 1139 | 30.28 | 2315 | 61.55 | 1446 | 38.45 |
| 37. වලස්මුල්ල | 2488 | 303 | 12.18 | 282 | 11.33 | 502 | 20.18 | 690 | 27.73 | 1777 | 71.42 | 711 | 28.58 |
| 38. යාපනය | 3669 | 333 | 9.08 | 373 | 10.17 | 708 | 19.30 | 1033 | 28.15 | 2447 | 66.69 | 1222 | 33.31 |
| 39. දූපත් | 706 | 11 | 1.56 | 29 | 4.11 | 76 | 10.76 | 170 | 24.08 | 286 | 40.51 | 420 | 59.49 |
| 40. තෙන්මාරච්චි | 1088 | 72 | 6.62 | 88 | 8.09 | 189 | 17.37 | 300 | 27.57 | 649 | 59.65 | 439 | 40.35 |
| 41. වලිකාමන් | 2803 | 147 | 5.24 | 175 | 6.24 | 512 | 18.27 | 877 | 31.29 | 1711 | 61.04 | 1092 | 38.96 |
| 42. වඩමරච්චි | 1837 | 141 | 7.68 | 149 | 8.11 | 339 | 18.45 | 502 | 27.33 | 1131 | 61.57 | 706 | 38.43 |
| 43. කිලිනොච්චි | 1974 | 29 | 1.47 | 65 | 3.29 | 217 | 10.99 | 514 | 26.04 | 825 | 41.79 | 1149 | 58.21 |
| 44. මන්නාරම | 1266 | 72 | 5.69 | 111 | 8.77 | 310 | 24.49 | 452 | 35.70 | 945 | 74.64 | 321 | 25.36 |
| 45. මඩු | 303 | 4 | 1.32 | 12 | 3.96 | 34 | 11.22 | 110 | 36.30 | 160 | 52.81 | 143 | 47.19 |
| 46. වව්නියාව දකුණ | 2234 | 137 | 6.13 | 171 | 7.65 | 475 | 21.26 | 751 | 33.62 | 1534 | 68.67 | 700 | 31.33 |
| 47. වව්නියාව උතුර | 608 | 18 | 2.96 | 28 | 4.61 | 102 | 16.78 | 195 | 32.07 | 343 | 56.41 | 265 | 43.59 |
| 48. මුලතිව් | 1013 | 24 | 2.37 | 44 | 4.34 | 166 | 16.39 | 303 | 29.91 | 537 | 53.01 | 476 | 46.99 |
| 49. තුනුක්කායි | 522 | 11 | 2.11 | 14 | 2.68 | 40 | 7.66 | 159 | 30.46 | 224 | 42.91 | 298 | 57.09 |
| 50. මඩකලපුව | 2618 | 199 | 7.60 | 190 | 7.26 | 463 | 17.69 | 752 | 28.72 | 1604 | 61.27 | 1014 | 38.73 |
| 51. කල්කුඩා | 1183 | 16 | 1.35 | 28 | 2.37 | 126 | 10.65 | 347 | 29.33 | 517 | 43.70 | 666 | 56.30 |
| 52. පදිරිප්පු | 1618 | 84 | 5.19 | 95 | 5.87 | 308 | 19.04 | 561 | 34.67 | 1048 | 64.77 | 570 | 35.23 |
| 53. මඩකලපුව (මධ්‍යම) | 1220 | 183 | 15.00 | 171 | 14.02 | 347 | 28.44 | 359 | 29.43 | 1060 | 86.89 | 160 | 13.11 |
| 54. අම්පාර | 2275 | 137 | 6.02 | 181 | 7.96 | 446 | 19.60 | 735 | 32.31 | 1499 | 65.89 | 776 | 34.11 |
| 55. කල්මුනේ | 2189 | 248 | 11.33 | 218 | 9.96 | 508 | 23.21 | 742 | 33.90 | 1716 | 78.39 | 473 | 21.61 |
| 56. සමන්තුරෙයි | 1130 | 47 | 4.16 | 67 | 5.93 | 204 | 18.05 | 405 | 35.84 | 723 | 63.98 | 407 | 36.02 |
| 57. මහඔය | 594 | 6 | 1.01 | 27 | 4.55 | 81 | 13.64 | 174 | 29.29 | 288 | 48.48 | 306 | 51.52 |
| 58. දෙහිඅත්තකණ්ඩිය | 1062 | 34 | 3.20 | 53 | 4.99 | 147 | 13.84 | 323 | 30.41 | 557 | 52.45 | 505 | 47.55 |
| 59. අක්කරෙයිපත්තුව | 1721 | 61 | 3.54 | 117 | 6.80 | 329 | 19.12 | 718 | 41.72 | 1225 | 71.18 | 496 | 28.82 |
| 60. ත්‍රිකුණාමලය | 1944 | 166 | 8.54 | 165 | 8.49 | 382 | 19.65 | 577 | 29.68 | 1290 | 66.36 | 654 | 33.64 |
| 61. මුතූර් | 989 | 23 | 2.33 | 53 | 5.36 | 146 | 14.76 | 373 | 37.71 | 595 | 60.16 | 394 | 39.84 |
| 62. කන්තලේ | 1058 | 21 | 1.98 | 54 | 5.10 | 159 | 15.03 | 310 | 29.30 | 544 | 51.42 | 514 | 48.58 |
| 63. කින්නියා | 1253 | 37 | 2.95 | 57 | 4.55 | 187 | 14.92 | 449 | 35.83 | 730 | 58.26 | 523 | 41.74 |
| 64. කුරුණෑගල | 5147 | 736 | 14.30 | 603 | 11.72 | 1103 | 21.43 | 1437 | 27.92 | 3879 | 75.36 | 1268 | 24.64 |
| 65. කුලියාපිටිය | 3724 | 289 | 7.76 | 298 | 8.00 | 754 | 20.25 | 1131 | 30.37 | 2472 | 66.38 | 1252 | 33.62 |
| 66. නිකවැරටිය | 2772 | 132 | 4.76 | 179 | 6.46 | 549 | 19.81 | 897 | 32.36 | 1757 | 63.38 | 1015 | 36.62 |
| 67. මහව | 3357 | 152 | 4.53 | 233 | 6.94 | 669 | 19.93 | 1179 | 35.12 | 2233 | 66.52 | 1124 | 33.48 |
| 68. ගිරිඋල්ල | 3732 | 251 | 6.73 | 343 | 9.19 | 848 | 22.72 | 1125 | 30.14 | 2567 | 68.78 | 1165 | 31.22 |
| 69. ඉබ්බාගමුව | 2720 | 188 | 6.91 | 208 | 7.65 | 513 | 18.86 | 860 | 31.62 | 1769 | 65.04 | 951 | 34.96 |
| 70. පුත්තලම | 4241 | 209 | 4.93 | 274 | 6.46 | 747 | 17.61 | 1346 | 31.74 | 2576 | 60.74 | 1665 | 39.26 |
| 71. හලාවත | 4994 | 429 | 8.59 | 413 | 8.27 | 985 | 19.72 | 1440 | 28.83 | 3267 | 65.42 | 1727 | 34.58 |

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 72. අනුරාධපුරය | 3960 | 418 | 10.56 | 385 | 9.72 | 889 | 22.45 | 1074 | 27.12 | 2766 | 69.85 | 1194 | 30.15 |
| 73. තඹුත්තේගම | 2088 | 54 | 2.59 | 104 | 4.98 | 339 | 16.24 | 669 | 32.04 | 1166 | 55.84 | 922 | 44.16 |
| 74. කැකිරාව | 2154 | 132 | 6.13 | 171 | 7.94 | 426 | 19.78 | 672 | 31.20 | 1401 | 65.04 | 753 | 34.96 |
| 75. ගලෙන්බිඳුනුවැව | 1523 | 40 | 2.63 | 89 | 5.84 | 323 | 21.21 | 504 | 33.09 | 956 | 62.77 | 567 | 37.23 |
| 76. කැබිතිගොල්ලෑව | 1799 | 42 | 2.33 | 82 | 4.56 | 276 | 15.34 | 616 | 34.24 | 1016 | 56.48 | 783 | 43.52 |
| 77. පොළොන්නරුව | 1656 | 158 | 9.54 | 160 | 9.66 | 286 | 17.27 | 451 | 27.23 | 1055 | 63.71 | 601 | 36.29 |
| 78. හිඟුරක්ගොඩ | 2098 | 120 | 5.72 | 152 | 7.24 | 290 | 13.82 | 576 | 27.45 | 1138 | 54.24 | 960 | 45.76 |
| 79. දිඹුලාගල | 1517 | 24 | 1.58 | 63 | 4.15 | 239 | 15.75 | 471 | 31.05 | 797 | 52.54 | 720 | 47.46 |
| 80. බදුල්ල | 3387 | 212 | 6.26 | 272 | 8.03 | 710 | 20.96 | 1042 | 30.76 | 2236 | 66.02 | 1151 | 33.98 |
| 81. බණ්ඩාරවෙල | 3140 | 301 | 9.59 | 290 | 9.24 | 707 | 22.52 | 911 | 29.01 | 2209 | 70.35 | 931 | 29.65 |
| 82. මහියංගනය | 1926 | 72 | 3.74 | 122 | 6.33 | 318 | 16.51 | 520 | 27.00 | 1032 | 53.58 | 894 | 46.42 |
| 83. වැලිමඩ | 2636 | 113 | 4.29 | 201 | 7.63 | 553 | 20.98 | 802 | 30.42 | 1669 | 63.32 | 967 | 36.68 |
| 84. පස්සර | 958 | 30 | 3.13 | 48 | 5.01 | 146 | 15.24 | 288 | 30.06 | 512 | 53.44 | 446 | 46.56 |
| 85. මොණරාගල | 2113 | 86 | 4.07 | 104 | 4.92 | 302 | 14.29 | 606 | 28.68 | 1098 | 51.96 | 1015 | 48.04 |
| 86. වැල්ලවාය | 2878 | 127 | 4.41 | 182 | 6.32 | 489 | 16.99 | 786 | 27.31 | 1584 | 55.04 | 1294 | 44.96 |
| 87. බිබිල | 1591 | 37 | 2.33 | 75 | 4.71 | 244 | 15.34 | 453 | 28.47 | 809 | 50.85 | 782 | 49.15 |
| 88. රත්නපුර | 5798 | 698 | 12.04 | 598 | 10.31 | 1134 | 19.56 | 1512 | 26.08 | 3942 | 67.99 | 1856 | 32.01 |
| 89. බලන්ගොඩ | 2636 | 179 | 6.79 | 223 | 8.46 | 553 | 20.98 | 711 | 26.97 | 1666 | 63.20 | 970 | 36.80 |
| 90. නිවිතිගල | 2555 | 88 | 3.44 | 143 | 5.60 | 444 | 17.38 | 813 | 31.82 | 1488 | 58.24 | 1067 | 41.76 |
| 91. ඇඹිලිපිටිය | 3538 | 179 | 5.06 | 238 | 6.73 | 672 | 18.99 | 1070 | 30.24 | 2159 | 61.02 | 1379 | 38.98 |
| 92. කෑගල්ල | 4064 | 438 | 10.78 | 481 | 11.84 | 919 | 22.61 | 1201 | 29.55 | 3039 | 74.78 | 1025 | 25.22 |
| 93. මාවනැල්ල | 3461 | 237 | 6.85 | 318 | 9.19 | 743 | 21.47 | 998 | 28.84 | 2296 | 66.34 | 1165 | 33.66 |
| 94. දෙහිඕවිට | 3197 | 186 | 5.82 | 273 | 8.54 | 699 | 21.86 | 946 | 29.59 | 2104 | 65.81 | 1093 | 34.19 |
| **සමස්ත දිවයින** | 269987 | 24528 | 9.08 | 23704 | 8.78 | 53458 | 19.80 | 77702 | 28.78 | 179392 | 66.44 | 90595 | 33.56 |

වගුව 4

1.2.5 ලකුණු ලබාගෙන ඇති ආකාරය - පන්ති ප්‍රාන්තර අනුව

| පන්ති ප්‍රාන්තරය | සංඛ්‍යාතය | සංඛ්‍යාත ප්‍රතිශතය | සමුච්චිත සංඛ්‍යාතය | සමුච්චිත සංඛ්‍යාත ප්‍රතිශතය |
|---|---|---|---|---|
| 91 - 100 | 592 | 0.19 | 316,680 | 100.00 |
| 81 - 90 | 6,506 | 2.05 | 316,088 | 99.81 |
| 71 - 80 | 15,713 | 4.96 | 309,582 | 97.76 |
| 61 - 70 | 23,263 | 7.35 | 293,869 | 92.80 |
| 51 - 60 | 34,626 | 10.93 | 270,606 | 85.45 |
| 41 - 50 | 46,364 | 14.64 | 235,980 | 74.52 |
| 31 - 40 | 67,068 | 21.18 | 189,616 | 59.88 |
| 21 - 30 | 77,411 | 24.45 | 122,548 | 38.70 |
| 11 - 20 | 42,503 | 13.42 | 45,137 | 14.25 |
| 01 - 10 | 2,605 | 0.82 | 2,634 | 0.83 |
| 00 - 00 | 29 | 0.01 | 29 | 0.01 |

වගුව 5

ඉහත වගුවෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා:- (31 - 40 පංති ප්‍රාන්තරය ගතහොත්)

මෙම විෂයය සඳහා 31 - 40 ප්‍රාන්තරය තුළ ලකුණු ලබාගත් සංඛ්‍යාව 67,068කි. එය ප්‍රතිශතයක් වශයෙන් 21.18%කි. ලකුණු 40 හෝ ඊට අඩුවෙන් ලබා ඇති සංඛ්‍යාව 189,616ක් වන අතර, එය ප්‍රතිශතයක් වශයෙන් 59.88%කි.

## 1.3 විෂය සාධනය පිළිබඳ විශ්ලේෂණය

### 1.3.1 I ප්‍රශ්න පත්‍රය සඳහා සාධනය




ප්‍රස්තාරය 1 (RD/16/05/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

ඉහත ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා:- මෙහි අයදුම්කරුවන් වැඩිම සංඛ්‍යාවක් නිවැරදිව පිළිතුරු සපයා ඇත්තේ 6 ප්‍රශ්නයට ය. එහි ප්‍රතිශතය 84%කි. එමෙන්ම අයදුම්කරුවන් අඩුම සංඛ්‍යාවක් නිවැරදිව පිළිතුරු සපයා ඇත්තේ 21 ප්‍රශ්නයට ය. එහි ප්‍රතිශතය 23%කි.

### 1.3.2 II ප්‍රශ්න පත්‍රයෙහි ප්‍රශ්න තෝරාගෙන ඇති ආකාරය




මෙම ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා:- මෙහි 1 ප්‍රශ්නය අනිවාර්ය වුව ද සුළු පිරිසක් එය තෝරාගෙන නැත. එයට පිළිතුරු සපයා ඇති ප්‍රතිශතය 99.5%කි. අඩුම ප්‍රතිශතයක් තෝරාගෙන ඇත්තේ 9 ප්‍රශ්නයයි. එම ප්‍රතිශතය 31%කි.

ප්‍රස්තාරය 2 (RD/16/02/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

### 1.3.3 II ප්‍රශ්න පත්‍රයෙහි ප්‍රශ්න සඳහා ලකුණු ලබාගෙන ඇති ආකාරය




මෙම ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා:- මෙහි 1 ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 30කි. එම ලකුණුවලින් 76 - 100% ප්‍රාන්තරයේ එනම් ලකුණු 23 - 30 තෙක් ලබාගත් ප්‍රතිශතය 2%කි. එමෙන්ම ලකුණුවලින් 0 - 25% ප්‍රාන්තරයේ එනම් ලකුණු 0 - 7 තෙක් ලබා ගත් ප්‍රතිශතය 55%කි.

ප්‍රස්තාරය 3 (RD/16/02/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

## 1.3.4 II ප්‍රශ්න පත්‍රය සඳහා සාධනය




ප්‍රස්තාරය 4.1 (RD/16/04/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

ඉහත ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා:- 1 ප්‍රශ්නයෙහි (ආ) (iii) 3 කොටසෙහි පහසුතාව 87%ක් වන අතර එම ප්‍රශ්නයේ (ආ) (i) *C* කොටසෙහි පහසුතාව 11%ක් පමණි.



අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2011
33 - ඉතිහාසය
II පත්‍රයේ ප්‍රශ්නවල එක් එක් කොටසෙහි පහසුතා දර්ශකය
පහසුතා දර්ශකය
1.0
0.9
0.8
0.7
0.6
0.5
0.4
0.3
0.2
0.1
0.0
(i) (ii) (iii) (iv)
2
(i) (ii) (iii) A B (iv)
3
(i) P Q R S (ii) (iii) A B (iv)
4
(i) A B C D (ii) (iii) (iv)
5
A B C (i) A B C D (ii) (iii) (iv)
6
II කොටසේ ප්‍රශ්න කොටස් හා අනුකොටස් (ලංකා ඉතිහාසය)


ප්‍රස්තාරය 4.2

**අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2011**

**33 - ඉතිහාසය**

**II පත්‍රයේ ප්‍රශ්නවල එක් එක් කොටසෙහි පහසුතා දර්ශකය**




ප්‍රස්තාරය 4.3

# II කොටස

## 2. ප්‍රශ්න හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

### 2.1 I ප්‍රශ්න පත්‍රය හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

#### 2.1.1. I ප්‍රශ්න පත්‍රයේ ව්‍යුහය

**කාලය පැය 01යි. මුළු ලකුණු 40කි.**

- ★ වරණ හතරක් සහිත බහුවරණ ප්‍රශ්න 40කින් සමන්විත වේ. එම එක් එක් ප්‍රශ්නයට දී ඇති (1), (2), (3), (4) වරණවලින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ වරණය තේරීම අපේක්ෂා කෙරේ.
- ★ සම්පූර්ණ විෂය නිර්දේශයම ආවරණය වන පරිදි ප්‍රශ්න සකස් කර ඇත.
- ★ ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු සැපයිය යුතුය.

## 2.1.2. I ප්‍රශ්න පත්‍රය

1. මහානාම හිමියන් විසින් රචනා කරන ලද'යි සැලකෙන ශ්‍රී ලංකාවේ දේශපාලන ඉතිහාසය පිළිබඳ සවිස්තර තොරතුරු අඩංගු වංශකතාව කුමක් ද?
   (1) දීපවංශය (2) මහාවංශය (3) දාඨාවංශය (4) බෝධිවංශය

2. ශ්‍රී ලංකාව ගැන තොරතුරු සැපයූ විදේශ ලේඛකයන් කිහිපදෙනකු I තීරුවේ ද, ඔවුන් අයත් වූ රටවල් II තීරුවේ ද දක්වේ. I තීරුව II තීරුව හා ගැළපූ විට නිවැරදි පිළිතුර වන්නේ මින් කුමක් ද?

| I තීරුව | II තීරුව |
|---|---|
| (i) ඉබන් බතූතා | *A.* අරාබිය |
| (ii) ෆාහියන් | *B.* ඉන්දියාව |
| (iii) කෞටිල්‍ය | *C.* බුරුමය (මියන්මාර්) |
| | *D.* චීනය |

   (1) *A D* හා *B* (2) *C D* හා *A* (3) *A C* හා *B* (4) *D A* හා *B*

3. අනුරාධපුර යුගයේ ආරාම පාලනය පිළිබඳ තොරතුරු ඇතුළත් වන්නේ මින් කවරක ද?
   (1) බදුලු ටැම් ලිපිය (2) සිතුල්පව්ව සෙල් ලිපිය
   (3) මිහින්තලා පුවරු ලිපිය (4) ගොඩවාය ටැම් ලිපිය

4. කිත්සිරිමෙවන් රජුගේ යැයි සැලකෙන තෝණිගල ශිලාලිපියේ අතීත කෘෂිකර්මය ගැන තොරතුරු ඇතුළත් වේ. මෙහි "පිට දඩහස", "අකලහස", "මැදෙහස" යනුවෙන් සඳහන් ව ඇත්තේ කවරක් විය හැකි ද?
   (1) ජල සම්පාදනය සම්බන්ධ බදු වර්ග තුනකි. (2) කෘෂිකර්මයට සම්බන්ධ රාජ්‍ය නිලධරයන් තිදෙනෙකි.
   (3) වගා කළ ධාන්‍යවලින් අයකළ බදු වර්ග තුනකි. (4) වී වගාවට සම්බන්ධ වගා කන්න තුනකි.

5. අනුරාධපුර යුගයේදී ඉන්දියානු සංක්‍රමණිකයන් හා ආක්‍රමණිකයන් ශ්‍රී ලංකාවට ගොඩබැසීම සඳහා බහුල ව භාවිත කර ඇති තොටුපළ කුමක් ද?
   (1) උරුවේල (2) ගෝකණ්ණ (3) ගොඩවාය (4) මහාතිත්ථ

6. වසර හතළිස් හතරක් සාධාරණ හා නීතිගරුක පාලනයක් ගෙන ගියා යැයි සැලකෙන අනුරපුර ද්‍රවිඩ පාලකයා කවුද?
   (1) එළාර (2) තිරීතර (3) පුලහත්ථ (4) පනයමාර

7. පළමුවන විජයබාහු රජතුමාගෙන් සිදු වූ සේවාව ඇගයීමේදී ප්‍රමුඛත්වය දිය යුත්තේ කුමන කරුණට ද?
   (1) අභාවයට ගොස් තිබූ වාරිමාර්ග ප්‍රතිසංස්කරණය කිරීම
   (2) ඥාති සම්බන්ධතා මගින් අසල්වැසි රාජ්‍ය සමඟ සුහද ව කටයුතු කිරීම
   (3) සොළී පාලනයෙන් මෙරට මුදවා ගෙන ස්වාධීන රාජ්‍යයක් බිහි කිරීම
   (4) නටබුන් ව තිබූ වෙහෙර විහාර ප්‍රතිසංස්කරණය කිරීම

- යාබද රූප සටහනෙහි වැවක ප්‍රධාන අංග *ABCD* වලින් දක්වේ. එය අධ්‍යයනය කොට ප්‍රශ්න අංක 8 හා 9ට පිළිතුරු සපයන්න.




8. අතිරික්ත ජලය පිට කිරීම සඳහා තනා ඇති නිර්මාණය දක්වෙන්නේ කවර අක්ෂරයෙන් ද?
   (1) *A* (2) *B*
   (3) *C* (4) *D*

9. මෙහි C වලින් දක්වෙන නිර්මාණයේ ප්‍රධාන කාර්යය කුමක් ද?
   (1) වැවට එකතුවන රොන් මඩ පාලනය කිරීම
   (2) වැවෙහි ජල පීඩනය සමනය කොට ප්‍රධාන ඇළට ජලය නිකුත් කිරීම
   (3) වැවෙහි රළ පහරින් වැව් බැම්ම සේදී යාම වැළැක්වීම
   (4) නියං කාලවලදී සීමිත ජල ප්‍රමාණයක් කුඹුරුවලට මුදා හැරීම

10. තුලාභාර දන දීම, රට තුළ සංචාරය කිරීම හා ශිලාලිපි විශාල සංඛ්‍යාවක් කරවීම මගින් වැසියන් අතර ජනප්‍රිය වීමේ ප්‍රතිපත්තියක් අනුගමනය කළ පොළොන්නරු පාලකයා කවුද?
   (1) පළමුවන විජයබාහු රජතුමා (2) පළමුවන පරාක්‍රමබාහු රජතුමා
   (3) සාහසමල්ල රජතුමා (4) කීර්ති ශ්‍රී නිශ්ශංකමල්ල රජතුමා

11. පහත සඳහන් සිදුවීම් අතුරෙන් කුරුණෑගල රාජධානි සමයේ ලංකාවට පැමිණි විදේශිකයකුට අසන්නට හෝ දකින්නට ලැබෙන සිදුවීම් ඇතුළත් පිළිතුර කුමක් ද?

$A$ - දෙවන පරාක්‍රමබාහු රජතුමා විසින් ජාවක චන්ද්‍රභානු පරාජය කිරීම
$B$ - යාපනයේ පාලකයා ලෙස සපුමල් කුමරු කටයුතු කිරීම
$C$ - පස්වන මිහිඳු රජ සිරකරුවකු ලෙස ඉන්දියාවට ගෙන යාම
$D$ - භික්ෂූන්ගේ විනය නීති පිළිබඳ දඹදෙණි කතිකාවත සම්පාදනය කිරීම
$E$ - චෙංහෝ සෙන්පතියා ලංකාව ආක්‍රමණය කිරීම

(1) $A\,C$ හා $D$ (2) $C\,D$ හා $E$ (3) $B\,C$ හා $D$ (4) $A\,D$ හා $E$

12. ශ්‍රී ලාංකික වාස්තු විද්‍යාව හා මූර්ති ශිල්පය කෙරෙහි කැපීපෙනෙන හින්දු බලපෑම් දැකිය හැක්කේ කවර යුගවල දී ද?

(1) අනුරාධපුර - දඹදෙණි (2) පොළොන්නරු - ගම්පොළ
(3) යාපහු - කුරුණෑගල (4) මහනුවර - කෝට්ටේ

13. අනගාරික ධර්මපාල, ආරුමුග නාවලර්, සිද්දි ලෙබ්බේ යන පුද්ගලයන්ගේ කටයුතුවල කැපීපෙනෙන පොදු ලක්ෂණය කුමක් ද?

(1) ජාතික සමගිය වර්ධනය කිරීම සඳහා සාමූහිකව කටයුතු කිරීම ය.
(2) සුරාසැල් තහනම් කිරීමේ ව්‍යාපාරය ව්‍යාප්ත කිරීමට කටයුතු කිරීම ය.
(3) බ්‍රිතාන්‍ය පාලනයෙන් ශ්‍රී ලංකාව මුදවා ගැනීම සඳහා කටයුතු කිරීම ය.
(4) ස්වකීය ආගම හා සංස්කෘතිය පිළිබඳ පුනර්ජීවයක් ඇතිකිරීමට කටයුතු කිරීම ය.

14. බ්‍රිතාන්‍යයන්ට ශ්‍රී ලංකාව කෙරෙහි අවධානය යොමු කිරීමට හේතු වූ කරුණ කුමක් ද?

(1) වතු වගාව ආරම්භ කිරීමට සුදුසු ඉඩම් ලබාගැනීමේ අවශ්‍යතාව
(2) දේශීය ජනතාව ක්‍රිස්තියානි ආගමට හරවා ගැනීමේ අභිලාෂය
(3) ඉන්දියන් සාගරයේ නාවුක කටයුතු මෙහෙයවීමට ත්‍රිකුණාමලය වරායේ ඇති වැදගත්කම වටහාගැනීම
(4) ශ්‍රී ලංකාවේ කුරුඳු වෙළඳාම පිළිබඳ ඒකාධිකාරය ලබාගැනීමේ අවශ්‍යතාව

15. ශ්‍රී ලංකාව යටත් විජිතයක් බවට පත්කරන ලද්දේ පහත සඳහන් කවර කොමිසමක යෝජනාවක් මත ද?

(1) ද මියුරන් කොමිසම (2) කෝල්බෲක් කොමිසම
(3) ඩොනමෝර් කොමිසම (4) සෝල්බරි කොමිසම

16. ක්‍රි.ව. 1818 දී හා ක්‍රි.ව. 1848 දී ශ්‍රී ලංකාවේ ඇති වූ නිදහස් අරගල හා සම්බන්ධ තොරතුරු පහත $A, B, C, D, E$ යටතේ දක්වා ඇත. ඒවා අතුරෙන් ක්‍රි.ව. 1818 නිදහස් අරගලය හා සම්බන්ධ තොරතුරු පමණක් අඩංගු පිළිතුර තෝරන්න.

$A$ - කැප්පෙටිපොළ දිසාවේගේ නායකත්වය
$B$ - ටොරිංග්ටන් සාමිගේ බදු ප්‍රතිපත්තිය
$C$ - ගොංගාලේගොඩ බණ්ඩා සිංහලේ රජු වශයෙන් අභිෂේක ලැබීම
$D$ - මොල්ලිගොඩ අදිකාරමගේ ක්‍රියාකලාපය
$E$ - හජ්ජි මරික්කාර් වෙල්ලස්සේ මුහන්දිරම් ලෙස පත්කරනු ලැබීම

(1) $B\,C\,D$ (2) $A\,C\,E$ (3) $A\,D\,E$ (4) $C\,D\,E$

17. බ්‍රිතාන්‍ය පාලන සමය තුළ මෙරට සිදු කරන ලද ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා සංශෝධනවල දක්නට ලැබුණු වර්තමානයේ පවා අහිතකර බලපෑම් ඇති කිරීමට සමත් වූ ලක්ෂණය ලෙස සැලකිය හැක්කේ,

(1) නිලලත් මන්ත්‍රීන් සංඛ්‍යාවට වඩා නිල නොලත් මන්ත්‍රීන් සංඛ්‍යාව ක්‍රමයෙන් වැඩිවීමයි.
(2) ජනවර්ග අනුව මන්ත්‍රීවරුන් පත් කිරීමයි.
(3) රාජ්‍ය නිලධාරීන්ගේ බලය මහජන නියෝජිතයන්ගේ බලය අභිබවා යෑමයි.
(4) නාමකරණයෙන් මන්ත්‍රීවරුන් පත්කිරීමට ආණ්ඩුකාරයාට බලතල තිබීමයි.

18. සෝල්බරි ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණවලට අදාළ ව ශ්‍රී ලංකාවේ ඇතිකළ වෙනස්කමක් වන්නේ මින් කුමක් ද?

(1) විධායක කාරක සභා පිහිටුවීම ය. (2) රාජ්‍ය මන්ත්‍රණ සභාව පිහිටුවීම ය.
(3) සර්වජන ඡන්ද බලය ලබා දීම ය. (4) උත්තර මන්ත්‍රී මණ්ඩලය ස්ථාපිත කිරීම ය.

19. බ්‍රිතාන්‍ය පාලන සමය තුළදී වතුවගාවේ දියුණුවට මෙන්ම දේශීය කෘෂිකර්මයේ පරිහානියට ද එකසේ බලපෑ හේතුවක් වන්නේ,

(1) අනිවාර්ය සේවා රාජකාරි ක්‍රමය අහෝසි කිරීම ය.
(2) මුඩු බිම් පනත සම්මත කිරීම ය.
(3) ඉන්දියානු කම්කරුවන්ගේ ශ්‍රමය ලබා ගැනීම ය.
(4) සිවිල් සේවකයන්ට පෞද්ගලික ව්‍යාපාරවල යෙදීමට ඉඩ සැලසීම ය.

20. පහත සඳහන් ඒවායින් බටහිර ජාතීන්ගේ බලපෑම නිසා ශ්‍රී ලාංකික සමාජයට එකතු වූ ලක්ෂණ පමණක් නිවැරදි ව ඇතුළත් වන්නේ කිනම් පිළිතුරේ ද?

*A* - බයිලා - කපිරිඤ්ඤ සංගීතය
*B* - තේසවලාමෙයි නීතිය
*C* - සර්වජන ඡන්දබලය
*D* - රාජකාරි ක්‍රමය
*E* - ආයුර්වේද වෛද්‍ය ක්‍රමය
*F* - රෙපරමාදු ආගම

(1) *A B C* (2) *B D E* (3) *A C F* (4) *C E F*

21. සංස්කෘතික නවෝදයට මෙන්ම ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ ව්‍යාපාරයට ද විශාල දයකත්වයක් සැපයූ සංවිධානයකි,

(1) ලංකා ජාතික සංගමය. (2) ශෛව පරිපාලන සභාව.
(3) අමද්‍යප ව්‍යාපාරය. (4) මහාබෝධි සමාගම.

22. පැරණි ඉන්දියාවේ සමාජය බෙදී තිබූ චතුර් වර්ණය අනුව, අධ්‍යාපන කටයුතු භාරවූයේ කවර කොටසකට ද?

(1) බ්‍රාහ්මණ (2) ක්ෂත්‍රිය (3) වෛශ්‍ය (4) ශුද්‍ර

23. දේශ ගවේෂණ කටයුතුවලට මුලින් ම අවධානය යොමුකළ යුරෝපා රට වූයේ

(1) ස්පාඤ්ඤයයි. (2) පෘතුගාලයයි. (3) ඕලන්දයයි. (4) ප්‍රංශයයි.

24.
*A* - මුහුදු යාත්‍රික ගවේෂණය සඳහා අවශ්‍ය නැව් තනාදීම
*B* - මුහුදු යාත්‍රික ගවේෂණය සඳහා අවශ්‍ය වෙනත් ආධාරදීම
*C* - ශාන්ත වින්සන්ට් තුඩුව අසල ආකාශවස්තු පරීක්ෂණාගාරයක් ඉදිකරවීම හා එය පවත්වාගෙන යාමට ආධාර දීම

මුහුදු යාත්‍රික ගමන්වල යෙදෙන්නන් සඳහා ඉහත *A*, *B* හා *C* වලින් දක්වෙන සේවාවන් සැපයීමට මුල් වූ පුද්ගලයා ලෙස සැලකෙන්නේ,

(1) ක්‍රිස්ටෝපර් කොලොම්බස් ය. (2) වස්කෝද ගාමා ය.
(3) බර්තොලමියු ඩයස් ය. (4) නාවික හෙන්රි ය.

25. යුරෝපයේ මධ්‍යතන යුගය අවසානයේදී ක්‍රිස්තු භක්තිකයන් හා ඉස්ලාම් භක්තිකයන් අතර කුරුස යුද්ධ ඇතිවූයේ කුමන නගරයේ අයිතිය සඳහා ද?

(1) කොන්ස්තන්තිනෝපල් (2) ජෙරුසලම
(3) ජිනෝවා (4) පීසා

26. එංගලන්තයෙන් ආරම්භ වූ කාර්මික විප්ලවය මුල් කාලයේදී යුරෝපයේ සෙසු රටවලට ව්‍යාප්ත නොවීමට හේතුව කුමක් ද?

(1) යුරෝපයේ සෙසු රටවල් හා එංගලන්තය අතර පැවැති සම්බන්ධතා දුර්වල මට්ටමක පැවැතීම
(2) එංගලන්තය ස්වකීය නිෂ්පාදන බාහිර ලෝකයට විවෘත නොකිරීම
(3) යුරෝපයේ බොහෝ රටවල් යටත් විජිත ඇති කරගැනීමේ තරගයක යෙදීම නිසා කාර්මීකරණය කෙරෙහි අවධානය යොමු නොකිරීම
(4) යුරෝපයේ බොහෝ රටවල් ආර්ථික වශයෙන් ආවෘත ප්‍රතිපත්තියක් අනුගමනය කිරීම

27. මුදල් ආයෝජනය කරන ධනපති පංතියක් හා ශ්‍රමය විකුණන කම්කරු පංතියක් ලෙස සමාජ ස්ථර දෙකක් බිහිවූයේ,

(1) කාර්මික විප්ලවයේ ප්‍රතිඵලයක් වශයෙනි. (2) යටත් විජිතකරණයේ ප්‍රතිඵලයක් වශයෙනි.
(3) පුනරුදයේ ප්‍රතිඵලයක් වශයෙනි. (4) වැඩවසම් ක්‍රමයේ ප්‍රතිඵලයක් වශයෙනි.

28. චීන සංස්කෘතික විප්ලවයේ අරමුණ වූයේ,

(1) චීනයේ තරුණ පිරිස් බටහිර සංස්කෘතියට නැඹුරුවීම වැළැක්වීමයි.
(2) මාඕ - සේ - තුං ගේ චින්තනය ජනතාව තුළ තහවුරු කිරීමයි.
(3) චීන සමාජයේ තිබූ පැරණි ආකල්ප හා සිරිත් විරිත් ඉවත් කර දැමීමයි.
(4) චීනයේ කම්කරු ජනතාවගේ අයිතිවාසිකම් තහවුරු කිරීමයි.

29.
* මිනිස් අයිතිවාසිකම් පිළිබඳ ප්‍රකාශය එළි දක්වීම
* රදළයින්ගේ හා ඉහළ පන්තියේ පූජකවරුන්ගේ බලතල ඉවත් කිරීම
* නීති සම්පාදනයට 750 කගෙන් යුත් සභාවක් පත්කර රජුගේ බලතල සීමා කිරීම
* රජුගේ කැමැත්ත මත මහජනයා සිරභාරයට ගැනීම තහනම් කිරීම

ඉහත දක්වා ඇති සිදුවීම් සියල්ල කවර ක්‍රියාවලියක ප්‍රතිඵලයක් සේ සැලකිය හැකි ද?

(1) රුසියානු විප්ලවයේ (2) වියානා සම්මේලනයේ (3) ප්‍රංශ විප්ලවයේ (4) කාබොනාරි ව්‍යාපාරයේ

30. * ජාතිවාදය ඉස්මතු කර තැබීම
* ආයුධ සන්නද්ධ ප්‍රචණ්ඩත්වය මුල්කර ගැනීම
* රාජ්‍යයට හා පාලකයාට දේවත්වයක් ආරූඪ කිරීම
* ආඥාදායක පාලන ක්‍රමය මූලික සංකල්පය කරගැනීම

ඉහත ලක්ෂණවලින් යුත් දේශපාලන මතවාද දෙකක් ලෙස සැලකිය හැක්කේ මොනවා ද?

(1) ලිබරල්වාදය හා කොමියුනිස්ට්වාදය
(2) ෆැසිස්ට්වාදය හා කොමියුනිස්ට්වාදය
(3) ලිබරල්වාදය හා නාසිවාදය
(4) නාසිවාදය හා ෆැසිස්ට්වාදය

31. සිය වර්ගයා නිර්මල ආර්යයන්ගෙන් පැවැත එන ලෝකයේ ඉතාම උතුම් මානව වර්ගය බව ජනතාවට ඒත්තු ගැන්වීමට ක්‍රියාකළ රාජ්‍ය නායකයා කවුද?

(1) ඉතාලියේ බෙනිටෝ මුසෝලිනී
(2) ජර්මනියේ ඇඩොල්ෆ් හිට්ලර්
(3) රුසියාවේ ව්ලැඩිමීර් ලෙනින්
(4) චීනයේ මාඕ-සේ-තුං

32. දෙවන ලෝක මහා සංග්‍රාමයේදී හිට්ලර් ලැබූ දරුණුතම හා තීරණාත්මක පරාජය ළඟාවූයේ මින් කවර රටක් ආක්‍රමණය කිරීමට යාමේදී ද?

(1) රුසියාව (2) පෝලන්තය (3) එංගලන්තය (4) බෙල්ජියම

33. සෝවියට් රුසියාව සමාජවාදී ක්‍රමයෙන් ඉවත්ව නිදහස් ආර්ථික ප්‍රතිපත්ති අනුගමනය කරන රටක් බවට පත්වීම ආරම්භ වූයේ කාගේ පාලන සමයේ දී ද?

(1) අගමැති නිකිතා කෘෂෙව් ගේ
(2) ජනාධිපති බෝරිස් යෙල්ට්සිං ගේ
(3) ජනාධිපති මිහායිල් ගෝර්බචෝව් ගේ
(4) ජනාධිපති ව්ලැඩිමීර් පුටින් ගේ

34. සෝවියට් දේශයේ බිඳවැටීම නිසා හටගත් වඩාත් අහිතකර ප්‍රතිඵලය ලෙස හැඳින්විය හැක්කේ මින් කවරක් ද?

(1) ලෝක බල තුලනය අහෝසි වීම
(2) සමාජවාදී ක්‍රමය ව්‍යාප්තවීමට තිබූ ඉඩකඩ ඇහිරීම
(3) වෝර්සෝ සංවිධානය විසුරුවා හැරීම
(4) සමාජවාදී රටවලට රුසියානු ආධාර නොලැබීයාම

35. ක්‍රි.ව. 1948 බැල්ෆර් ප්‍රකාශනය මගින්,

(1) ජර්මනිය බටහිර හා නැගෙනහිර වශයෙන් දෙකඩ කිරීම සිදු විය.
(2) ඊශ්‍රායලය නමින් වෙනම රාජ්‍යයක් බිහි කෙරිණි.
(3) උතුරු අත්ලන්තික් ගිවිසුම් සංවිධානය (NATO) පිහිටුවනු ලැබිණි.
(4) කොරියාව උතුරු හා දකුණු වශයෙන් දෙකඩ කිරීම සිදුවිය.

- පහත *A*, *B*, *C*, *D* හා *E* යටතේ අදහස් යුගලය බැගින් දක්වා ඇත. ඒ එක් එක් යුගලයෙහි දී ඇති පළමුවැන්න හා දෙවැන්න අතර සම්බන්ධය අධ්‍යයනය කොට, අංක **36** සිට **40** දක්වා අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

*A* - 1. මානව වාදය
2. ප්‍රංශ විප්ලවය

*B* - 1. ඉතාලිය එක්සත් කිරීමේ ව්‍යාපාරය
2. පාප්තුමාගේ ආගමික බලය

*C* - 1. ගැරිබෝල්ඩිගේ මෙහෙයුම
2. ජර්මනිය එක්සත් කිරීමේ ව්‍යාපාරය

*D* - 1. සාර් පාලනය
2. රුසියානු විප්ලවය

*E* - 1. දෙවන ලෝක යුද්ධය නිසා සිදු වූ හානිය
2. ජපන් ආර්ථිකය

36. පළමුවැන්නේ බිඳවැටීම කෙරෙහි දෙවැන්නෙහි බලපෑම දක්වෙන යුගලය,

(1) *A* ය. (2) *B* ය. (3) *C* ය. (4) *D* ය.

37. පළමුවැන්නෙහි ආරම්භය දෙවැන්නෙහි වර්ධනය කෙරෙහි බලපෑම දක්වෙන යුගලය,

(1) *A* ය. (2) *B* ය. (3) *C* ය. (4) *D* ය.

38. පළමුවැන්න හා දෙවැන්න අතර සම්බන්ධතාවක් **නොදක්වන** යුගලය,

(1) *B* ය. (2) *C* ය. (3) *D* ය. (4) *E* ය.

39. පළමුවැන්නේ සාර්ථකත්වයට දෙවැන්න අහිතකර ලෙස බලපෑමක් ඇති කළ යුගලය,

(1) *A* ය. (2) *B* ය. (3) *D* ය. (4) *E* ය.

40. දෙවැන්නේ වර්ධනයට පළමුවැන්න බාධාකාරී වුව ද එය කෙටි කාලීන බලපෑමක් වූ බව සිතිය හැකි යුගලය,

(1) *B* ය. (2) *C* ය. (3) *D* ය. (4) *E* ය.

2.1.3 I පත්‍රය සඳහා අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

| ප්‍රශ්න අංකය | පිළිතුර | ප්‍රශ්න අංකය | පිළිතුර |
|---|---|---|---|
| 01 | 2 | 21 | 3 |
| 02 | 1 | 22 | 1 |
| 03 | 3 | 23 | 2 |
| 04 | 4 | 24 | 4 |
| 05 | 4 | 25 | 2 |
| 06 | 1 | 26 | 2 |
| 07 | 3 | 27 | 1 |
| 08 | 1 | 28 | 2 |
| 09 | 3 | 29 | 3 |
| 10 | 4 | 30 | 4 |
| 11 | 1 | 31 | 2 |
| 12 | 2 | 32 | 1 |
| 13 | 4 | 33 | 3 |
| 14 | 3 | 34 | 1 |
| 15 | 1 | 35 | 2 |
| 16 | 3 | 36 | 4 |
| 17 | 2 | 37 | 1 |
| 18 | 4 | 38 | 2 |
| 19 | 2 | 39 | 2 |
| 20 | 3 | 40 | 4 |

**නිවැරදි එක් පිළිතුරකට ලකුණු 02 බැගින් මුළු ලකුණු 80කි.**

**I පත්‍රය සඳහා අවසන් ලකුණ $= \frac{80}{2} = 40$**

### 2.1.4 I ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ - විෂය ක්ෂේත්‍ර අනුව




| ප්‍රශ්න අංකය | විෂය ක්ෂේත්‍ර | පහසුතාව වැඩිම ප්‍රශ්නය හා එහි පහසුතාව | පහසුතාව අඩුම ප්‍රශ්නය හා එහි පහසුතාව |
|---|---|---|---|
| 1 - 21 | ලංකා ඉතිහාසය | 6 (84%) | 21 (23%) |
| 22 - 40 | ලෝක ඉතිහාසය | 22 (63%) | 34 (27%) |




I ප්‍රශ්න පත්‍රය සැකසී ඇති විෂය ක්ෂේත්‍ර දෙක අතුරින් ලංකා ඉතිහාසයට දක්වා ඇති පහසුතාව 52%කි. එසේම ලෝක ඉතිහාසයට දක්වා ඇති පහසුතාව 41%කි. සමස්තයක් ලෙස I ප්‍රශ්න පත්‍රයට දක්වා ඇති පහසුතාව 47%කි.

2.1.5 **I** ප්‍රශ්න පත්‍රයේ එක් එක් ප්‍රශ්නයෙහි වරණ තෝරා ඇති ආකාරය - ප්‍රතිශත ලෙස

| ප්‍රශ්න අංකය | නිවැරදි වරණය | එක් එක් වරණය තෝරා ඇති ශිෂ්‍ය ප්‍රතිශතය | | | |
|---|---|---|---|---|---|
| | | 1 | 2 | 3 | 4 |
| 1 | 2 | 15% | 71% | 8% | 6% |
| 2 | 1 | 41% | 24% | 23% | 12% |
| 3 | 3 | 12% | 23% | 52% | 13% |
| 4 | 4 | 9% | 12% | 16% | 63% |
| 5 | 4 | 8% | 46% | 13% | 33% |
| 6 | 1 | 84% | 3% | 9% | 4% |
| 7 | 3 | 10% | 8% | 65% | 17% |
| 8 | 1 | 62% | 28% | 4% | 6% |
| 9 | 3 | 7% | 12% | 76% | 5% |
| 10 | 4 | 12% | 24% | 5% | 59% |
| 11 | 1 | 35% | 17% | 24% | 24% |
| 12 | 2 | 17% | 59% | 13% | 11% |
| 13 | 4 | 14% | 8% | 10% | 68% |
| 14 | 3 | 8% | 5% | 66% | 21% |
| 15 | 1 | 38% | 30% | 16% | 16% |
| 16 | 3 | 21% | 28% | 42% | 9% |
| 17 | 2 | 30% | 24% | 25% | 21% |
| 18 | 4 | 14% | 20% | 38% | 28% |
| 19 | 2 | 21% | 55% | 14% | 10% |
| 20 | 3 | 15% | 14% | 55% | 16% |
| 21 | 3 | 53% | 9% | 23% | 15% |
| 22 | 1 | 63% | 22% | 11% | 4% |
| 23 | 2 | 33% | 38% | 14% | 15% |
| 24 | 4 | 16% | 13% | 11% | 60% |
| 25 | 2 | 47% | 45% | 6% | 2% |
| 26 | 2 | 13% | 32% | 38% | 17% |
| 27 | 1 | 44% | 12% | 10% | 34% |
| 28 | 2 | 26% | 33% | 16% | 25% |
| 29 | 3 | 17% | 15% | 53% | 15% |
| 30 | 4 | 16% | 16% | 14% | 54% |
| 31 | 2 | 17% | 42% | 12% | 29% |
| 32 | 1 | 43% | 28% | 19% | 10% |
| 33 | 3 | 22% | 22% | 34% | 22% |
| 34 | 1 | 27% | 26% | 22% | 25% |
| 35 | 2 | 19% | 28% | 37% | 16% |
| 36 | 4 | 25% | 21% | 18% | 36% |
| 37 | 1 | 33% | 22% | 31% | 14% |
| 38 | 2 | 21% | 36% | 21% | 22% |
| 39 | 2 | 20% | 35% | 26% | 19% |
| 40 | 4 | 13% | 18% | 16% | 53% |

එක් එක් ප්‍රශ්නය යටතේ නිවැරදි වරණය තෝරා ඇති ශිෂ්‍ය ප්‍රතිශතය අඳුරු කර දක්වා ඇත.

2.1.6. I ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :

1 සහ 6 ප්‍රශ්න සැකසී ඇත්තේ 6 සිට 10 තෙක් ශ්‍රේණිවල ඉතිහාසය විෂය නිර්දේශයේ අවස්ථා ගණනාවකදීම හමුවන තේමාවල සිද්ධි ඇසුරෙන් වීම නිසා පිළිවෙළින් 71%ක් සහ 84%ක් වැනි ඉහළ සාධනයක් දක්වා ඇත. ඉතා පැහැදිලි රූපයක් සමග නම් කිරීමක් ඉදිරිපත් කර තිබීම හා ක්ෂේත්‍ර චාරිකාවලදී දැක හුරු පුරුදු වැවෙහි අංගයක් ඇසුරින් ගොඩනැගුණු ප්‍රශ්නයක් නිසා 9 ප්‍රශ්නයට ද 77%ක සාර්ථකත්වයක් දක්වා ඇත. එක් එක් ශ්‍රේණියෙහි වෙනත් විෂයවලදී ද සාකච්ඡාවට බඳුන්වන තේමා පිළිබඳ කරුණු සිහිපත් කිරීම වැදගත් ය. ඉගෙනුම් ඉගැන්වීම් හා ඇගයීම් ක්‍රියාවලියේදී ද, පන්තිකාමර ඉගෙනුම් ප්‍රදර්ශන සැකසීමේදී ද රූප සටහන් යොදා ගැනීමේ වැදගත්කම පැහැදිලි වේ.

5 ප්‍රශ්නයට අයදුම්කරුවන්ගෙන් 33%ක් නිවැරදිව පිළිතුරු සපයා ඇත්තේ සිද්ධි හා සම්බන්ධ ශ්‍රී ලංකාවේ හා ඉන්දියාවේ පිහිටීම, දිශාගතව පිහිටි වරාය පිළිබඳ දැනුම නොමැතිවීම නිසාය. එබැවින් හුරුපුරුදු 'ගෝකණ්ණ' යන 2 වරණය 46%ක් තෝරාගෙන ඇත. සිතියම් පිළිබඳ අවබෝධය, රටවල දිශානුගත පිහිටීම හා සිද්ධි සමග ගැළපූ ඓතිහාසික තොරතුරු තහවුරු වන අයුරින් ඉගෙනුම් ඉගැන්වීම් හා ඇගයීම් ක්‍රමවේද සංවිධානය කිරීම සුදුසුය.

17 හා 18 ප්‍රශ්නවල ශිෂ්‍ය ප්‍රතිචාර අනුව සාධන මට්ටම 24%ක් හා 28%ක් වැනි අඩු අගයක් බව දක්නට ඇති අතර ඒවා බ්‍රිතාන්‍ය පරිපාලනය හා ආණ්ඩුක්‍රම විකාශනය යටතේ විශ්ලේෂණ හැකියාව මැනීම සඳහා සැකසී ඇත. ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ 6ක් පිළිබඳ දැනුම, අවබෝධය හා විශ්ලේෂණ හැකියාව අයදුම්කරුවන් තුළ තිබිය යුතු වීම මීට බලපා ඇත. මෙවැනි විෂය කරුණු තහවුරු කිරීම සඳහා පන්තිකාමර ඉගෙනුම් - ඉගැන්වීම හා ඇගයීම් ක්‍රියාවලියේදී ගුරු සිසු සහභාගිත්වයෙන් චාට් සටහන්, ප්‍රදර්ශන පුවරු හා වගු ගත කිරීම ආශ්‍රිත ක්‍රියාකාරකම් මගින් පාඩම් ඒකකය සංවර්ධනය කළ හැකි වේ.

21 ප්‍රශ්නය සඳහා අයදුම්කරුවන්ගෙන් 53%ක් 1 වරණය නිවැරදි යැයි, වැරදි ලෙස තෝරා ගැනීම නිසා 23%ක අඩු සාධනයක් දක්වා ඇත. සංස්කෘතික හා ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ යන යෙදුම් දෙකෙන් සංස්කෘතික යන යෙදුම ගැන අවධානය යොමු නොකිරීම නිසා වැඩි පිරිසක් නිවැරදි 3 වරණය තෝරා ගැනීමට අපොහොසත් වී ඇත. ප්‍රශ්නයේ සමස්තය මෙන්ම සෑම යෙදුමක් පිළිබඳවම අවධානය යොමු කිරීමට සිසුන් යොමු කිරීම උචිතය.

22, 24, 29 සහ 30 ප්‍රශ්න සඳහා සාර්ථකව පිළිතුරු සැපයීම සඳහා විෂය දැනුම බෙහෙවින්ම බලපා ඇත. සපයා ඇති මූලාශ්‍ර සිද්ධි හා ගැළපීමේ හැකියාව අයදුම්කරුවන් සතුව ඇති බව අනාවරණය වේ. පෙළ පොත හා අතිරේක ඉගෙනුම් උපකරණ සහ එකිනෙක සිද්ධි හා කරුණු නිවැරදිව ගළපා ගැනීමට පන්තිකාමර ක්‍රියාකාරකම් යොදා ගැනීම සුදුසු වේ.

23 ප්‍රශ්නය සඳහා අයදුම්කරුවන්ගෙන් 32%ක් 1 වරණය නිවැරදි යැයි, වරදවා තෝරාගෙන ඇත. නිවැරදි 2 වරණය තෝරා ගැනීම 38%ක් දක්වා අඩු වී ඇත්තේ දේශ ගවේෂණ කටයුතුවලට පුරෝගාමී වූ රට වෙන් කර හඳුනා ගැනීමට අපහසු වූ නිසාය. අතීත ක්‍රියාකාරකම්වල යෙදුණු රටවල් සමූහයක් අතුරෙන් පුරෝගාමී වූ රට වෙන්කර හඳුනා ගැනීමේ අපහසුතාව මගහැරීම සඳහා කටයුතු කිරීම සුදුසුය.

28 ප්‍රශ්නය සඳහා විෂය දැනුමට හා පොත පත පරිශීලන දැනුමට පරිබාහිරව ප්‍රශ්නය තුළ ඇතුළත් වචන අරුත් සලකා පිළිතුරු සැපයීමට උත්සාහ ගැනීම නිසා නිවැරදි වරණය 1 හෝ 4 යැයි 26% බැගින් වැරදි තෝරා ගැනීමට අයදුම්කරුවන් සමසේ යොමු වීම තුළින් සාධනය 33%ක් දක්වා අඩු වී ඇත. කිසියම් ක්ෂේත්‍රයක සියලු කරුණු කැටිකොට දී ඇති පිළිතුරු අතුරින් වඩාත් ම ගැළපෙන පිළිතුර තෝරා ගැනීමට සිසුන්ට මගපෙන්වීම අවශ්‍ය වේ. චීනයට අයත් ඉතිහාස කරුණු කෙරෙහි වැඩි අවධානයක් යොමු කිරීම අවශ්‍ය වේ.

විෂය කරුණු නිවැරදිව අවබෝධ කර ගැනීම හා ධාරණය කර ගැනීම සිදු වී නොමැති බැවින් 34 හා 35 ප්‍රශ්න සඳහා අයදුම්කරුවන් සෑම වරණයක්ම පාහේ සමසේ තෝරා ගැනීමට යොමු වීම නිසා පිළිවෙළින් 27%ක් හා 28%ක් දක්වා සාධනය අඩු වී ඇත. පෙළ පොත පරිහරණය සහ සිද්ධි හා ප්‍රතිඵල සැසඳීමට සිසුන් යොමු කිරීම සුදුසු වේ.

36, 37, 38 සහ 39 ප්‍රශ්න සඳහා නිවැරදි වරණ තෝරා ගැනීමට වැඩි අයදුම්කරුවන් සංඛ්‍යාවකට දුෂ්කර වී ඇත. 36-40 ප්‍රශ්න ගොනුව ඉහළ හැකියා මැනීම සඳහා ඉදිරිපත් කරන ලද අභියෝගාත්මක ප්‍රශ්න වේ. එසේම 40 ප්‍රශ්නය සඳහා සාර්ථකව පිළිතුරු ලබා දීමට ජපානය සම්බන්ධ සුවිශේෂ සිද්ධිය හා දී තිබුණු උපකාරක ප්‍රකාශ අයදුම්කරුවන්ට රුකුලක් වී ඇත. සිද්ධි දෙකක හෝ කිහිපයක වෙනස්වීම තවත් ප්‍රතිඵලයක් කෙරෙහි කෙසේ බලපායි ද යන්න තර්කානුකූලව විමසීම සඳහා සිසුන් යොමු කිරීම හා එවැනි ප්‍රශ්න රටා කෙරෙහි අවධානය යොමු කර වීම උචිත වේ.

ලෝක ඉතිහාසය කොටසට සමීප බව අඩු වීම නිසා එයට දක්වා ඇති සාධනය ලංකා ඉතිහාසයට වඩා තරමක් අඩු වී ඇත. විෂය නිර්දේශයම ආවරණය වන පරිදි සාරාංශ සකස් කිරීම, නැවත නැවත ආවර්ජනය කිරීම, සුවිශේෂ කරුණු ඉස්මතු කරගැනීම ආදියට සිසුන් පෙලඹවීම තුළින් සාධනය වැඩි කර ගත හැකිය.

## 2.2 II ප්‍රශ්න පත්‍රය හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

### 2.2.1 II ප්‍රශ්න පත්‍රයේ ව්‍යුහය

**කාලය පැය 03යි. මුළු ලකුණු 120යි.**

මෙය I, II හා III ලෙස ප්‍රධාන කොටස් 3කින් යුක්තය.

**I කොටස**

පළමුවන ප්‍රශ්නය පමණක් මෙම කොටසට අයත් වන අතර, එය (අ) සහ (ආ) ලෙස කොටස් දෙකකින් යුක්ත අනිවාර්ය ප්‍රශ්නයකි. (අ) කොටසට සිතියම් ලකුණු කිරීම සඳහා ලකුණු 18ක් ද, (ආ) කොටසට පින්තූර ආශ්‍රිත කෙටි ප්‍රශ්නවලට පිළිතුරු සැපයීම සඳහා ලකුණු 12ක් ද වෙන් කෙරේ.

**II කොටස**

මෙම කොටස ලංකා ඉතිහාසයට අදාළව ව්‍යුහගත හා අර්ධ ව්‍යුහගත වර්ගයේ ප්‍රශ්න 5කින් යුක්ත වන අතර ඉන් 3කට පිළිතුරු සැපයිය යුතුය. ප්‍රශ්නයකට ලකුණු 18 බැගින් මුළු ලකුණු 54ක් වෙන් කෙරේ.

**III කොටස**

මෙම කොටස ඉන්දීය, යුරෝපා හා ඈත පෙරදිග ආසියානු රටවල ඉතිහාසයට අදාළව ව්‍යුහගත හා අර්ධ ව්‍යුහගත වර්ගයේ ප්‍රශ්න 4කින් යුක්ත අතර ඉන් 2කට පිළිතුරු සැපයිය යුතුය. එක් ප්‍රශ්නයකට ලකුණු 18 බැගින් මුළු ලකුණු 36ක් වෙන් කෙරේ.

II පත්‍රය සඳහා මුළු ලකුණු = 30 + 54 + 36 = 120

II පත්‍රයට අවසාන ලකුණ = $\frac{120}{2}$ = 60

2.2.2. II ප්‍රශ්න පත්‍රය, අපේක්ෂිත පිළිතුරු, ලකුණු දීමේ පටිපාටිය, පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ, නිගමන හා යෝජනා

★ II පත්‍රය සඳහා පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ ප්‍රස්තාර අංක 2, 3, 4.1, 4.2 හා 4.3 ඇසුරින් ඉදිරිපත් කර ඇත. ප්‍රශ්නයට අදාළ ප්‍රස්තාර කොටස ඒ ඒ ප්‍රශ්නයේ නිරීක්ෂණ හා නිගමන සමඟ දක්වා ඇත.

1 ප්‍රශ්නය

## I කොටස

1. (අ) පහත (i) යටතේ දක්වා ඇති ඓතිහාසික ස්ථාන සියල්ල ම සපයා ඇති ශ්‍රී ලංකා සිතියමෙහි ද (ii) යටතේ දක්වා ඇති ඓතිහාසික ස්ථාන සියල්ල ම සපයා ඇති ලෝක සිතියම් කොටසෙහි ද ලකුණු කර නම් කරන්න.

(i) නාච්චදූව වැව, යාන් ඔය, තිරියාය, මඩකලපුව නගරය, මාගම, චේතියගිරි, කසාතොට, සොංකඩගල, කදුරුගොඩ විහාරය (කන්තරෝඩෙයි), මාතර (ලකුණු 10 යි)

(ii) කැලිකට්, මක්කම, මලක්කා සමුද්‍ර සන්ධිය, වතිකානුව, බෙයි-ජිං, දිල්ලිය, කාම්බෝජය, සෝර් (සූර්) (ලකුණු 08 යි)

(ආ) (i) පහත *A, B, C, D* යටතේ දක්වා ඇති ඓතිහාසික තොරතුරු හා සම්බන්ධ පුද්ගලයන් කවුරුන්දැයි අනුපිළිවෙළින් ඔබේ පිළිතුරු පත්‍රයේ ලියා දක්වන්න.

*A* - මහාවංශයේ සඳහන් වන අන්දමට විජය කුමාරයාට ලංකා රාජ්‍යය ලබාගැනීමට උදව් කළ යක්ෂ ගෝත්‍රික කුමාරිකාව

*B*.- තුන් නිකාය අතර සමගියක් ඇති කොට බුදු දහමේ දියුණුවට අනුග්‍රහ ලබාදුන් පොළොන්නරු පාලකයා

*C* - ඉන්දියාවේ අවසාන බ්‍රිතාන්‍ය ප්‍රතිරාජයා

*D* - දෙවන ලෝක මහා සංග්‍රාම අවධියේ මිත්‍ර පාක්ෂික පිළට නායකත්වය ලබාදුන් බ්‍රිතාන්‍ය අගමැතිවරයා

(ලකුණු 04 යි)

(ii) යාබද *A* සහ *B* යටතේ දක්වා ඇති පින්තූර අධ්‍යයනය කොට, අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු **අංක අනුපිළිවෙළින්** ඔබේ පිළිතුරු පත්‍රයේ ලියන්න.

1. මහනුවර රජකළ මෙම රජුගේ නම කුමක් ද?
2. මොහු උපතින් කවර වංශයකට අයත් වූවෙක් ද?
3. මොහුගේ විධානයෙන් මරණීය දණ්ඩනයට ලක් වූ මහාධිකාරම්වරයා කවරෙක් ද?
4. මෙම පාලකයා විසින් දළදා මාළිගා සංකීර්ණයට එකතු කරන ලද කලාත්මක නිර්මාණය කුමක් ද?



*A*

(ලකුණු 04 යි)

(iii)
1. මෙවැනි නිර්මාණ ගොඩනංවා ඇත්තේ කවර ඉන්දියානු අධිරාජයකු විසින් ද?
2. ඔහු කවර රාජ වංශයකට අයත් වූවෙක් ද?
3. මෙහි නිරූපිත සත්ත්වයකු නම් කරන්න.
4. මෙවැනි නිර්මාණ හමු වූ ස්ථානයකට නිදසුනක් සපයන්න.



*B*

(ලකුණු 04 යි)

අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

1 ප්‍රශ්නය

(1) (අ) (i)




(ලකුණු 10)

(1) (අ) (ii)




(ලකුණු 08)

(ආ) (i) *A* - කුවේණී/ කුවණ්ණා
*B* - පළමුවන පරාක්‍රමබාහු/ මහා පරාක්‍රමබාහු
*C* - මවුන්ට්බැටන් සාමි
*D* - ශ්‍රීමත් වින්ස්ටන් චර්චිල්/ චර්චිල් (ලකුණු 04)

(ii) 1. ශ්‍රී වික්‍රම රාජසිංහ
2. නායක්කර් රාජවංශය
3. පිළිමතලව්වේ මහාධිකාරම/ පිළිමතලව්වේ
4. පත්තිරිප්පුව (ලකුණු 04)

(iii) 1. ධර්මාශෝක/ අශෝක
2. මෞර්ය
3. සිංහයා/ ගව/ ඇත්/ අශ්ව
4. සාරානාත්/ රුම්මින්දෙයි/ ලෞරිය නන්දනගර්/ අලහබාද්/ සාංචි
ලුම්බිණි (ලකුණු 04)

1 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




1 ප්‍රශ්නය අනිවාර්ය වුවත් පිළිතුරු සපයා ඇත්තේ 99.5%ක් පමණි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 30ක් හිමි වේ.
ඉන් ලකුණු 00 - 07 ප්‍රාන්තරයේ 55%ක් ද,
ලකුණු 08 - 15 ප්‍රාන්තරයේ 35%ක් ද,
ලකුණු 16 - 22 ප්‍රාන්තරයේ 8%ක් ද,
ලකුණු 23 - 30 ප්‍රාන්තරයේ 2%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 23 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 2%ක් වන අතර 55%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 07 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අනුකොටස් 14ක් ඇති අතර ඉන් අනුකොටස් 5ක පහසුතාව 60%කට වැඩිය. පහසුතාව වැඩිම අනුකොටස (ආ) (iii) 3 වන අතර එහි පහසුතාව 87%කි. එසේම පහසුතාව අඩුම අනුකොටස වන්නේ (ආ) (i) *C* ය. එහි පහසුතාව 11%කි.

(අ) (i) සහ (ii) අනුකොටස් මඟින් පිළිවෙළින් ශ්‍රී ලංකා සිතියමෙහි සහ ලෝක සිතියම් කොටසෙහි දී ඇති ඓතිහාසික ස්ථාන ලකුණු කිරීම අපේක්ෂා කෙරිණි. ඒවායෙහි පහසුතා පිළිවෙළින් 19%ක් හා 12%ක් වන ඉතා අඩු අගයන් බැවින්, දී ඇති ස්ථාන නිවැරදිව හඳුනා ගැනීම හා නම් කිරීම ඉතා දුර්වල මට්ටමක පවතින බව පෙනේ. (ආ) (i) යටතේ දී ඇති ඓතිහාසික තොරතුරු හා සම්බන්ධ දේශීය හා විදේශීය පුද්ගලයන් නම් කිරීමේ දක්ෂතාව ද ප්‍රමාණවත් නොවේ. (ආ) (ii) සහ (iii) අනුකොටස් සැකසී ඇත්තේ සපයා ඇති රූප ආශ්‍රිතව සබැඳි ඓතිහාසික තොරතුරු මත පිළිවෙළින් ශ්‍රී ලංකාවේ හා ලෝකයේ ප්‍රසිද්ධ පුද්ගලයන් හා කලා කෘති පදනම් කරගෙනය. ශ්‍රී ලංකාව හා සම්බන්ධ (ii) අනුකොටසෙහි පහසුතාව අඩු අගයක් බව දක්නට ඇත. සුවිශේෂී සිද්ධි පිළිබඳ දැනුම හා මතකය අල්ප බව මේ අනුව පැහැදිලි වේ.

ඓතිහාසික වශයෙන් සුවිශේෂී වන ස්ථාන සිතියම්වල ලකුණු කිරීමේ හා නම් කිරීමේ හැකියා වර්ධනය කිරීම අවශ්‍ය වේ. ශ්‍රී ලංකා ඉතිහාසයට හා ලෝක ඉතිහාසයට අදාළ ඓතිහාසික ස්ථාන ලකුණු කර නම් කිරීමේ ශිල්පීය ක්‍රම සිසුන්ට පුරුදු පුහුණු කිරීම ඉතා වැදගත් වේ. ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය තුළදී සිතියම් භාවිත කිරීම මෙන්ම එහි අවසානයේදී ඊට අදාළ ඓතිහාසික ස්ථාන සිතියමක ලකුණු කරවීම ද ප්‍රයෝජනවත් වේ. ඓතිහාසික ස්ථානවල පැරණි නම් මෙන්ම නූතන නම් ද වගුගත කිරීම, සිතියම්වල ලකුණු කිරීම හා ප්‍රදර්ශනය කිරීම කළ හැකිය. සංස්කෘතික වටිනාකමක් ඇති කලා උරුම කෙරෙහි වැඩි අවධානයක් යොමු කිරීම, ඡායාරූප, ඓතිහාසික චිත්‍ර හා තොරතුරු එකතු කිරීම, ඒවා ඇතුළත් ඉතිහාසය විෂය කාමරයක් පාසල තුළ සකස් කිරීම ආදිය මඟින් සිසු රුචිය, දැනුම හා මතකය වර්ධනය කළ හැකි වේ.

# II කොටස

## 2 ප්‍රශ්නය

02. අපේක්ෂණය : ප්‍රාග් ඓතිහාසික මානවයාගේ සිට අනුරපුර රාජධානියේ මුල් අවධිය දක්වා දේශපාලන හා සමාජ තත්ත්වය පිළිබඳ දැනුම හා අවබෝධය පිරික්සීම

2. "ශ්‍රී ලංකාවේ ප්‍රාග් ඓතිහාසික යුගය පිළිබඳ ව බොහෝ තොරතුරු ලෙන් ආශ්‍රිත කැණීම්වලින් ඉස්මතු වන අතර ආර්ය සංක්‍රමණ පිළිබඳ තොරතුරු වංශකථාවලින් හෙළි වේ."

(i) ප්‍රාග් ඓතිහාසික යුගයේ ජීවත් වූ මානවයා අනුගමනය කළ අවමංගල්‍ය සිරිත් විරිත් පිළිබඳ තොරතුරු අනාවරණය වන ලෙන් **තුනක්** නම් කරන්න. *(ලකුණු 03 යි)*

(ii) ලංකාවේ ආර්ය ජනාවාස ආරම්භය හා ව්‍යාප්තිය කෙරෙහි බලපෑ ඉන්දීය සංක්‍රමණික කණ්ඩායම් **හතරක්** සඳහන් කරන්න. *(ලකුණු 04 යි)*

(iii) පණ්ඩුකාභය රාජ්‍ය සමයේ වැදගත්කම සාධක **දෙකක්** ඇසුරෙන් විස්තර කරන්න. *(ලකුණු 05 යි)*

(iv) අතීත ශ්‍රී ලංකාවේ පැවැති කුඩා ම පරිපාලන ඒකකය ලෙසින් සැලකෙන ගම් සභාව ක්‍රියාත්මක වූ ආකාරය කරුණු **තුනක්** ඇසුරෙන් පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

(2) (i)
- කිතුල්ගල බෙලිලෙන
- බටදොඹලෙන
- පාහියන්ගල ලෙන
- රාවණා ඇල්ල ලෙන

(ලකුණු 1 × 3 = 03)

(ii)
- විජය කුමරු ඇතුළු පිරිස/ විජායි කුමරිය ඇතුළු පිරිස
- විජය කුමරුගේ මෙහෙසිය ලෙස ගෙන්වා ගත් මධුරා පුර කුමරිය ඇතුළු පිරිස
- පඬුවස්දෙව් ඇතුළු පිරිස
- භද්දකච්චානා ඇතුළු පිරිස
- භද්දකච්චානාගේ සොහොයුරන් ඇතුළු පිරිස
- සඟමිත් තෙරණිය ඇතුළු පිරිස (ලකුණු 1 × 4 = 04)

(iii)
- ★ ආර්ය හා අනාර්ය ජනපද එක්සත් කර ඒකීය පාලනයක් බිහි කිරීම
- ★ සංවිධානාත්මක පාලන ක්‍රමයක් බිහි කිරීම
  - අනුරපුරය සැලසුම් සහගත නගරයක් බවට පත් කිරීම
  - ග්‍රාම සීමා නියම කිරීම
  - නගර පාලනයට නගර ගුත්තික තනතුර ඇති කිරීම
- ★ ආගමික සහජීවන ප්‍රතිපත්තියක් අනුගමනය කිරීම
  - චිත්තරාජ කාලවේල දෙදෙනාට දේවාල ඉදි කිරීම
  - ජෛන, බ්‍රාහ්මණ, පරිබ්‍රාජකයන් සඳහා අනුග්‍රහ දැක්වීම
  - වෙනත් දේශීය ඇදහිලි සඳහා ඉඩ ප්‍රස්තා සැලසීම
- ★ රාජ අනුග්‍රහය යටතේ පළමුවන ඓතිහාසික අභය වැව ඉදි කිරීමෙන් කෘෂි කර්මාන්තයට අනුග්‍රහ දැක්වීම
- ★ රාජ්‍යත්වයට පදනම දැමීම

කරුණු දෙකකට ලකුණු 02
විස්තර කිරීමට ලකුණු 03
මුළු ලකුණු = 05

(iv)
- ★ නායකත්වය
  - ගමේ වැඩිහිටියකු නායකත්වය ගැනීම
  - ගමික/ පරුමක/ ගමිණි ග්‍රාමභෝජක යන නම්වලින් හැඳින්වීම

★ කාර්යයන්
  - ගමේ ආදායම් එකතු කිරීම
  - ගමේ කටයුතු ගැන රජතුමාට වගකීමට බැඳී සිටීම
  - ගැමියන්ගේ සිරිත් විරිත් හා සම්ප්‍රදායවලට අනුව කටයුතු කිරීම
  - යුක්තිය පසිඳලීම
★ ගම් පාලනයේ දී ප්‍රජාතන්ත්‍රීය ලක්ෂණ කැපී පෙනුන බව
  - ගමෙහි අවශ්‍යතා පිළිබඳ සාකච්ඡා කර සාමූහික තීරණ ගැනීම

කරුණු තුනකට ලකුණු 03
විස්තර කිරීමට ලකුණු 03
මුළු ලකුණු = 06

2 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




2 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ 69%ක් පමණි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමිවේ. ඉන් ලකුණු 00 - 04 ප්‍රාන්තරයේ 33%ක් ද, ලකුණු 05 - 09 ප්‍රාන්තරයේ 31%ක් ද, ලකුණු 10 - 13 ප්‍රාන්තරයේ 21%ක් ද, ලකුණු 14 - 18 ප්‍රාන්තරයේ 15%ක් ද, ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 15%ක් වන අතර 33%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් කොටස් 4 අතුරෙන් පහසුතාව වැඩිම කොටස (ii) වන අතර එහි පහසුතාව 63%කි. එසේම පහසුතාව අඩුම කොටස වන්නේ (iii)ය. එහි පහසුතාව 42%කි.

ශ්‍රී ලංකාවේ ආර්ය සංක්‍රමණ ජනාවාස හා අතීත රාජ්‍ය පාලනය පිළිබඳ තොරතුරු ඇසුරින් සකස් වී ඇති මෙම ප්‍රශ්නය 69%ක් තෝරාගෙන ඇත. මධ්‍යස්ථ පහසුතාවක් පෙන්නුම් කරන මෙම ප්‍රශ්නයේ (i), (ii), (iii) හා (iv) කොටස්වල පහසුතා පිළිවෙළින් 44%ක්, 63%ක්, 42%ක් හා 46%ක් වේ. ශ්‍රී ලංකාවේ ඓතිහාසික තොරතුරු හා ආර්ය ජනාවාස 6 සිට 10 තෙක් ශ්‍රේණිවල අවස්ථා කිහිපයකදීම අධ්‍යයනයට ලක්වීම මෙම සාධනයට බලපා ඇත.

ප්‍රාග් ඓතිහාසික මානවයා, ලක්දිව ආර්ය ජනාවාස පිහිටුවීම, පණ්ඩුකාභය රාජ්‍ය සමය හා පැරණි ලංකාවේ පාලනය සංවිධානය වැනි කොටස් පිළිබඳව සිසුන්ගේ දැනුම වර්ධනය කිරීම සඳහා ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේදී හැකිතාක් දුරට තොරතුරු වගුගත කර දැක්වීම, සිතියම් භාවිතය, කේවල හෝ කණ්ඩායම් ක්‍රියාකාරකම් හා භූමිකා රංගනය වැනි ක්‍රම ශිල්ප භාවිත කිරීම තුළින් සිසු ප්‍රියතාව, දැනුම හා අවබෝධය තවදුරටත් වර්ධනය කළ හැකිවේ.

3 ප්‍රශ්නය

03. අපේක්ෂණය : ජලාශ්‍රිත ශිෂ්ටාචාරයේ ආරම්භය, ව්‍යාප්තිය හා වර්ධනය පිළිබඳ තුලනාත්මක අවබෝධය විමසීම

**3.** "ශ්‍රී ලංකාවේ වියළි කලාපයේ ගංගාධාර ආශ්‍රිතව පදිංචි වූ ආර්ය සංක්‍රමණිකයෝ පසු කාලයකදී විශිෂ්ට ජල සම්පාදන ව්‍යාපාර නිර්මාණයේ දක්ෂයෝ බවට පත් වූහ."

(i) *A* - උපතිස්සගාම
*B* - උරුවේලගාම
*C* - දීඝගාම

යන මුල් ආර්ය ජනපද කවර ගංගාධාර ආශ්‍රිතව ගොඩනගා ඇත්දැයි අනුපිළිවෙළින් දක්වන්න. *(ලකුණු 03 යි)*

(ii) මුල් ආර්ය ජනපදිකයන් වියළි කලාපයේ ගංගා ආශ්‍රිත ප්‍රදේශ ජනාවාසකරණය සඳහා තෝරාගැනීමට පදනම් වූ සාධක **හතරක්** සඳහන් කරන්න. *(ලකුණු 04 යි)*

(iii) ආර්ය ජනපද ව්‍යාප්තියත් සමඟම ඔවුන් ජල සම්පාදන ව්‍යාපාර ආරම්භ කිරීම කෙරෙහි අවධානය යොමු කළේ ඇයිදැයි හේතු **දෙකක්** ඇසුරෙන් පැහැදිලි කරන්න. *(ලකුණු 05 යි)*

(iv) *A* - වැව් නිර්මාණය
*B* - ඇළ නිර්මාණය

යන කාර්යවලදී අපේ පැරණි වාරිමාර්ග ශිල්පීන් දැක්වූ තාක්ෂණික විශිෂ්ටත්වය නිදසුන් දක්වමින් පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

(3) (i) *A* - කදම්බ නදී/ මල්වතු ඔය/ ගම්භීර නදී/ කනදරා ඔය/ අරුවි ආරු
*B* - ගෝණ නදී/ කලා ඔය
*C* - ගාල්හ නදී/ ගල් ඔය (ලකුණු 1 × 3 = 03)

(ii) - තැනිතලා බිම් තිබීම/ මුල් ජීවන උපාය කෘෂිකර්මය වීම
- සරුපස
- ජල පහසුව
- හිතකර දේශගුණය (ලකුණු 1 × 4 = 04)

(iii) - ජනගහන වර්ධනයට අවශ්‍ය ආහාර නිෂ්පාදනය වැඩි කිරීමට සිදුවීම
- වී වගා කටයුතු සඳහා ගංගා ජලය ප්‍රමාණවත් නොවීම
- අවුරුද්දේ එක් කාලයකට වර්ෂාව සීමා වීම
- වර්ෂාපතනය කෙටි කාලයකට සීමා වීම/ අවිනිශ්චිත වීම
- දීර්ඝ නියං කාල ඇති වීම

කරුණු දෙකකට ලකුණු 02
විස්තර කිරීමට ලකුණු 03
මුළු ලකුණු = 05

(iv) *A* - වැව් නිර්මාණය
- සුදුසු ස්ථානයක් තෝරා ගැනීම
- පාෂාණ සංයුතිය හා සමෝච්ච රේඛා විහිදීම සැලකිල්ලට ගැනීම
- විවිධ කාර්යයන් සඳහා වැවේ අංග නිර්මාණය කිරීම (පිටවාන, සලපනාව, බිසෝ කොටුව, වැව් බැම්ම)

★ වැවක පැවැත්ම සඳහා කළිඟු බැමි, ඉස් වැටි, කුළු වැව් ඉදි කිරීම

*B* - ඇළ නිර්මාණය
★ සුළු බෑස්මක් ඔස්සේ විශාල දුරකට ජලය ගෙන යාම
උදා : ජය ගඟ/ ඇළහැර/ යෝධ ඇළ/ මිනිපේ ඇළ
★ අන්තර් ගංගා ද්‍රෝණි ඇළ මාර්ග මඟින් සම්බන්ධ කිරීම
උදා : ජය ගඟ

★ ඇළෙහි ජලය ගලා යන වේගය ක්‍රමවත් කිරීම සඳහා විවිධ ක්‍රම භාවිතය (ගල් පුවරු හා කණු ඇළේ ඇතුළු පැත්තේ සවි කිරීම)

★ උමං ජල තාක්ෂණය භාවිත කිරීම (ඇත්, කුට්ටම්, රන්මසු උයන)

(යටත් පිරිසෙයින් වැවෙහි තාක්ෂණික විශිෂ්ටත්වය හා ඇළෙහි තාක්ෂණික විශිෂ්ටත්වය සඳහා නිදසුන් දෙක බැගින්)

*A* - ලකුණු 03
*B* - ලකුණු 03
මුළු ලකුණු = 06

3 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




3 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ 63%ක් පමණි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමිවේ. ඉන් ලකුණු 00 - 04 ප්‍රාන්තරයේ 32%ක් ද, ලකුණු 05 - 09 ප්‍රාන්තරයේ 34%ක් ද, ලකුණු 10 - 13 ප්‍රාන්තරයේ 21%ක් ද, ලකුණු 14 - 18 ප්‍රාන්තරයේ 13%ක් ද, ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 13%ක් වන අතර 32%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් කොටස් හා අනුකොටස් 5 අතුරෙන් පහසුතාව වැඩිම අනුකොටස (iv)*A* වන අතර එහි පහසුතාව 62%කි. එසේම පහසුතාව අඩුම කොටස වන්නේ (i) ය. එහි පහසුතාව 30%කි.

ශ්‍රී ලංකාවේ මුල් ආර්ය ජනපද, ගංගාධාර ආශ්‍රිතව ව්‍යාප්තිය හා පැරණි වාරිමාර්ග තාක්ෂණයේ විශිෂ්ටත්වය පිළිබඳව සැකසී ඇති මෙම ප්‍රශ්නය 63%ක් තෝරාගෙන ඇත. මෙහි (i) කොටසෙහි පහසුතාව 30%ක් දක්වා අඩුවී ඇතත් ඉතිරි කොටස්වල පහසුතා 42% සිට 62% දක්වා විසිරී පවතී. (i) කොටසෙහි ග්‍රාම නාම කුමන ගංගා නිම්නවලට අයත් වන්නේ දැයි පැහැදිලි අවබෝධයක් සිසුන්ට නොමැති වීම නිසා එහි සාධනය අඩු වී ඇත. ඉතිරි කොටස්වල හා අනුකොටස්වල පහසුතා ඉහළ යෑමට හේතු වී ඇත්තේ පන්තිකාමරයේදී නිතර සාකච්ඡාවට හා ඇගයීමට ලක්වන විෂය කරුණු බැවිනි. තවද ඇළ නිර්මාණය පිළිබඳව නිදසුන් දැක්වීම දුර්වල බව දක්නට ඇත.

ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියෙහිදී ගංගා හා ආර්ය ජනපදවල ඓතිහාසික නම් හා නූතන නම් අතර ඇති සම්බන්ධතාව දැක්වීමෙන් ඒවායේ පිහිටීම පිළිබඳ අවබෝධය තහවුරු කළ හැකිය. පාඩම සංවර්ධනය කෙරෙන අතරතුරදීම ගංගා හා ඒ ආශ්‍රිතව පිහිටුවන ලද ආර්ය ජනපද සිතියමක ලකුණු කරවීම හා ඒවා වගුගත කර දැක්වීම කෙරෙහි අවධානය යොමු කිරීම සුදුසුය. හැකි සෑම විටම නිදසුන් සහිතව පැහැදිලි කිරීමත්, සුවිශේෂ කරුණු කෙරෙහි අවධානය යොමු කිරීමත් අවශ්‍ය වේ.

4 ප්‍රශ්නය

04. අපේක්ෂණය : 13 සියවසේ සිට 15 සියවස අවසානය දක්වා ශ්‍රී ලංකාවේ දේශපාලන හා සංස්කෘතික ඉතිහාසය පිළිබඳ දැනුම හා තුලනාත්මක අවබෝධය විමසීම

**4.** 'පොළොන්නරුවෙන් පසුව පාලන මධ්‍යස්ථාන විතැන් වූ යුගය මෙරට ඉතිහාසයේ සුවිශේෂ අනන්‍යතාවක් ගොඩනැගුණු කාල පරිච්ඡේදයක් සේ සැලකිය හැකි ය.'

(i) යාබද සිතියමෙහි පොළොන්නරුවේ සිට කෝට්ටේ දක්වා පාලන මධ්‍යස්ථාන විතැන් වූ ආකාරය දක්වේ. මෙහි $B, C$ හා $D$ වලින් පෙන්වා ඇති පාලන මධ්‍යස්ථාන අනුපිළිවෙළින් දක්වන්න. *(ලකුණු 03 යි)*

(ii) පහත $P, Q, R, S$ යටතේ දක්වා ඇති තොරතුරු හා සම්බන්ධ පුද්ගලයන් කවුරුන්ද'යි වරහන් තුළින් තෝරා අනුපිළිවෙළින් දක්වන්න.

$P$ - රජරට කාලිංග මාඝ පාලනය පැවැති සමයේ ගෝවින්ද මලයෙහි සිටි ප්‍රාදේශීය පාලකයා

$Q$ - බෙලිගල දළඳ මාලිගාවක් ඉදිකළ රජතුමා

$R$ - ක්‍රි. ව. 1411 දී චෙංහෝ නමැති චීන සෙන්පතියා විසින් තම රටට සිරකරුවකු ලෙස ගෙනගිය රයිගම පාලකයා

$S$ - හයවන පරාක්‍රමබාහු රාජ්‍ය සමයේදී උඩරට ජෝතිය සිටාණන් ඇති කළ කැරැල්ල මැඩ පැවැත්වීමට යැවූ පුද්ගලයා

(නිශ්ශංක අලගක්කෝණාර, අම්බුළුගල කුමාරයා, වීර අලකේශ්වර, සංඛ සෙනවි, සපුමල් කුමාරයා, තුන්වන විජයබාහු, පළමුවන භුවනෙකබාහු, භුවනෙකබාහු ආදිපාද)

*(ලකුණු 04 යි)*




(iii) හතරවන පරාක්‍රමබාහු රජතුමාගේ ආගමික හා සාහිත්‍ය සේවාව නිදසුන් **එක** බැගින් දක්වමින් විස්තර කරන්න. *(ලකුණු 05 යි)*

(iv) දහතුන්වන සියවසේ සිට පසළොස්වන සියවස දක්වා වූ කාලය තුළ මෙරට,

$A$ - ගෘහ නිර්මාණ ශිල්පය,

$B$ - කැටයම් කලාව,

යන ක්ෂේත්‍රවල දක්නට ලැබුණු විශේෂ ලක්ෂණ **එක** බැගින් දක්වමින් විස්තර කරන්න. *(ලකුණු 06 යි)*

අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

(4) (i) $B$ - දඹදෙනිය
$C$ - යාපහුව/ සුබ පබ්බත
$D$ - කුරුණෑගල/ ඇතුගල් පුරය (ලකුණු 1 × 3 = 03)

(ii) $P$ - බුවනෙකබාහු ආදිපාද
$Q$ - තුන්වන විජයබාහු
$R$ - වීර අලකේශ්වර
$S$ - අම්බුළුගල කුමාරයා (ලකුණු 1 × 4 = 04)

(iii) ★ ආගමික සේවාව
★ කුරුණෑගල නගරයේ දළදා මාළිගාවක් ඉදි කිරීම
★ දළදා වහන්සේගේ ආරක්ෂාවට හා නඩත්තුවට ගම්වර පූජා කිරීම
★ මහනුවර අස්ගිරි සේනාසනය ආරම්භ කිරීම

සාහිත්‍ය සේවාව

- ★ දළදා සිරිත ලිවීමට අනුග්‍රහ දැක්වීම
- ★ පන්සිය පනස් ජාතක පොත සිංහලට පරිවර්තනය කිරීමට අනුග්‍රහ දැක්වීම
- ★ සිංහල බෝධි වංශය, අනාගත වංශය වැනි පොත් ලියැවීම
- ★ පිරිවෙන්වලට අනුග්‍රහ දැක්වීම
  (වීදාගම සනානන්ද පිරිවෙන, තොටගමුවේ විජයබා පිරිවෙන)

**කරුණු තුනකට ලකුණු 02**
**විස්තර කිරීමට ලකුණු 03**
**මුළු ලකුණු = 05**

(iv) *A* - ගෘහ නිර්මාණ ශිල්පය

- ★ දකුණු ඉන්දීය ගෘහ නිර්මාණ ශිල්පයේ ආභාෂය දක්නට ලැබීම
- ★ බෞද්ධ විහාර ආශ්‍රිතව දේවාල සෑදීම
  උදා: ඇම්බැක්කේ, ලංකාතිලක
- ★ ටැම්පිට විහාර ඉදිකිරීම ජනප්‍රිය වීම/ තෙත් කලාපයේ ගං වතුරෙන් හා වේයන්ගෙන් ආරක්ෂා වීමට

*B* - කැටයම් කලාව

- ★ කැටයම් කලාව සඳහා ගල්, ලී හා ඇත් දළ භාවිත කිරීම
- ★ ලී කැටයම් කලාව දියුණු තත්ත්වයක පැවතීම
  (උදා: ඇම්බැක්කේ ලී කැටයම්)
- ★ ජන ජීවිතයේ අවස්ථා ලී කැටයම්වලින් නිරූපණය කිරීම
  (උදා: ඇම්බැක්කේ දේවාලය - අත දරුවකුට කිරි දෙන මව, ඇත් පොරය, බෙර වයන්නන්)

**ලක්ෂණ දෙකකට ලකුණු 02**
**විස්තරයට ලකුණු 04**
**මුළු ලකුණු = 06**

4 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




4 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ 53%ක් පමණි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමිවේ.
ඉන් ලකුණු 00 - 04 ප්‍රාන්තරයේ 57%ක් ද,
ලකුණු 05 - 09 ප්‍රාන්තරයේ 25%ක් ද,
ලකුණු 10 - 13 ප්‍රාන්තරයේ 11%ක් ද,
ලකුණු 14 - 18 ප්‍රාන්තරයේ 7%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 7%ක් වන අතර 57%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට කොටස් හා අනුකොටස් 8ක් ඇත. ඒවා අතුරෙන් පහසුතාව වැඩිම අනුකොටස (ii) *Q* වන අතර එහි පහසුතාව 69%කි. එසේම පහසුතාව අඩුම අනුකොටස වන්නේ (iv) *A* ය. එහි පහසුතාව 22%කි.

පොළොන්නරුවෙන් පසු ගොඩනැඟුණු පැරණි රාජධානි ඇසුරින් සැකසී ඇති මෙම ප්‍රශ්නය 53%ක් තෝරාගෙන ඇත. (i) හි හා (ii) *Q* හි පහසුතා පිළිවෙළින් 42%ක් හා 69%ක් වුවත් ඉතිරි අනුකොටස්වල හා (iii) කොටසේ පහසුතා 22% සිට 39% තෙක් විසිරී පවතී. සිතියමෙහි දක්වා ඇති පැරණි රාජධානි නිවැරදිව නම් කිරීමට අවශ්‍ය සිතියම්ගත ස්ථාන පිළිබඳ මතකය ගිලිහී යාම හා පිළිතුරු ගොනුවක් ඇසුරින් නිවැරදි පිළිතුරු තේරීමට අවශ්‍ය විෂය කරුණුවල සම්බන්ධය මතකයට නංවාගත නොහැකි වීම නිසා ඉහළ සාධනයක් ලබා නොමැත. නිදසුන් ඉදිරිපත් කර විස්තර කිරීමටත් අදාළ යුගවලට ගැළපෙන පරිදි අසා ඇති ක්ෂේත්‍රවල විශේෂ ලක්ෂණයක් දක්වමින් එය විස්තර කිරීමටත් දුර්වලතා ප්‍රදර්ශනය කිරීම නිසා (iii) හි හා (iv) *B* හි පහසුතා පිළිවෙළින් 33% හා 23% තෙක් අඩු වී ඇත.

ක්ෂේත්‍ර චාරිකා මගින් අදාළ ඓතිහාසික ස්ථානවල තොරතුරු අධ්‍යයනය කිරීම, වීඩියෝ පට, චිත්‍ර, රූප සටහන් ඇසුරින් කරුණු තහවුරු කිරීම, පෙළ පොත අධ්‍යයනය කිරීමේදී මාතෘකා හා අනුමාතෘකා යටතේ විෂය කරුණු පෙළ ගැස්සවීමට හුරුවක් ලබා දීම අවශ්‍ය වේ. සිතියම් ලකුණු කිරීම, නම් කිරීම, ප්‍රගුණ කිරීම හා ඒවා පන්තිකාමරය තුළ ප්‍රදර්ශනය කිරීම සුදුසුය. එසේම අදාළ විෂය කරුණු හොඳින් අධ්‍යයනය කර සමස්තයටම අයත් සුවිශේෂි කරුණු සාරාංශ වශයෙන් පෙළ ගැස්වීමෙන් සිසුන්ට විශිෂ්ට සාධනයක් ලබා ගත හැකිය.

5 ප්‍රශ්නය

05. අපේක්ෂණය : 16 සියවසේ සිට 18 සියවස අවසාන දක්වා ශ්‍රී ලංකාවට පැමිණි බටහිර ජාතීන් එවකට ලංකාවේ පැවති රාජධානි සමඟ පැවැත් වූ සබඳතා පිළිබඳ තුලනාත්මක අවබෝධය පිරික්සීම

**5.** 'පෘතුගීසි හා ලන්දේසි ජාතිකයන් මෙරට දේශපාලනයෙහි වෙනස්කම් ඇති කිරීමට යම් ප්‍රමාණයකට බලපෑමක් කර ඇතැයි සැලකේ.'

(i) ක්‍රි. ව. 1521 දී සිදු වූ විජයබා කොල්ලයෙන් පසුව,

*A* - කෝට්ටේ

*B* - සීතාවක

*C* - රයිගම

යන එක් එක් රාජධානියේ බලයට පත් වූ රජවරුන් තිදෙනාගේ නම් අනුපිළිවෙළින් දක්වන්න. *(ලකුණු 03 යි)*

(ii) පහත *A*, *B*, *C*, *D* යටතේ දක්වා ඇති ඓතිහාසික සිදුවීම්වලට සම්බන්ධ පුද්ගලයන් කවුරුන්දැයි වරහන් තුළ දී ඇති ලැයිස්තුවෙන් තෝරා අනුපිළිවෙළින් ලියා දක්වන්න.

*A* - ක්‍රි. ව. 1505 දී ගාල්ලට ගොඩබට පෘතුගීසි යාත්‍රිකයා

*B* - මුල්ලේරියා සටනේදී පෘතුගීසි හමුදා මෙහෙය වූ සෙන්පතියා

*C* - පළමුවන රාජසිංහ රජු ප්‍රථමවරට උඩරට ආක්‍රමණය කළ අවධියේදී එහි සිටි පාලකයා

*D* - රාජ්‍ය උරුමය තහවුරු කර ගැනීම සඳහා පළමුවන විමලධර්මසූරිය රජු විසින් විවාහ කරගත් කුමාරිකාව

(කරල්ලියැද්දේ බණ්ඩාර, වීරසුන්දර බණ්ඩාර, කුසුමාසන දේවී, කොන්ස්ටන්ටයින් ද සා, ලොරෙන්සෝ ද අල්මේද, අපොන්සු පෙරෙයිරා ද ලසර්ද, සමුද්‍රදේවී, ෆ්‍රැන්සිස්කෝ ද අල්මේද) *(ලකුණු 04 යි)*

(iii) ප්‍රබල රාජ්‍යයක් ව පැවැති කෝට්ටේ කෙටි කලකදී පෘතුගීසි ආධිපත්‍යයට යටත්වීමට බලපෑ හේතු **දෙකක්** විස්තර කරන්න. *(ලකුණු 05 යි)*

(iv) උඩරට රජුන් සමඟ කටයුතු කිරීමේදී බොහෝ අවස්ථාවල ලන්දේසීන් උපායශීලී උපක්‍රම අනුගමනය කළ බව නිදසුන් **තුනක්** දක්වමින් පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

(5) (i) *A* - හත්වන බුවනෙකබාහු

*B* - මායාදුන්නේ

*C* - මද්දුම බණ්ඩාර/ රයිගම් බණ්ඩාර (ලකුණු 1 × 3 = 03)

(ii) *A* - ලොරෙන්සෝ ද අල්මේදා

*B* - අපොන්සු පෙරෙයිරා ද ලසර්දා

*C* - කරලියැද්දේ බණ්ඩාර

*D* - කුසුමාසන දේවි (ලකුණු 1 × 4 = 04)

(iii)
- ★ විජයබා කොල්ලයෙන් පසු කෝට්ටේ රාජ්‍යය කොටස් තුනකට කැඩී යාම
- ★ පාලකයන් අතර අසමගිය
- ★ ධර්මපාල රජුගේ ක්‍රියා කලාපය - කිතු දහම වැළඳගැනීම
- ★ පෘතුගීසීන්ගේ යුධ ශක්තිය
- ★ බුවනෙකබාහු පෘතුගීසි සහය පැතීම

කරුණු දෙකට ලකුණු 02

විස්තර කිරීමට ලකුණු 03

මුළු ලකුණු = 05

(iv) ★ හැකිතාක් දුරට යුද්ධවලින් වැළකීම
★ විවිධ කටයුතු සඳහා රජවරුන්ට අනුග්‍රහ දැක්වීම
★ තමනට වාසිදායී අයුරින් ගිවිසුම් ඇති කර ගැනීම (1638 හා 1766 ගිවිසුම්)
★ උඩරට රජුන්ට පක්ෂපාතීව හා අවනත බව පෙන්වන අයුරින් කටයුතු කිරීම

කරුණු දෙකට ලකුණු 03
විස්තර කිරීමට ලකුණු 03
මුළු ලකුණු = 06

**5 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :**




5 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ 68%ක් පමණි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමිවේ. ඉන් ලකුණු 00 - 04 ප්‍රාන්තරයේ 35%ක් ද, ලකුණු 05 - 09 ප්‍රාන්තරයේ 34%ක් ද, ලකුණු 10 - 13 ප්‍රාන්තරයේ 18%ක් ද, ලකුණු 14 - 18 ප්‍රාන්තරයේ 13%ක් ද, ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 13%ක් වන අතර 34%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට කොටස් හා අනුකොටස් 7ක් ඇත. ඒවා අතුරෙන් පහසුතාව වැඩිම අනුකොටස (ii) *D* වන අතර එහි පහසුතාව 86%කි. එසේම පහසුතාව අඩුම කොටස වන්නේ (iv) ය. එහි පහසුතාව 29%කි.

පෘතුගීසි හා ලන්දේසි ජාතිකයන් මෙරට දේශපාලනයෙහි වෙනස්කම් කෙරෙහි බලපෑම හා අදාළ රාජධානි පිළිබඳව සකස් වී ඇති මෙම ප්‍රශ්නය 68%ක්, එනම් වැඩිම ප්‍රතිශතයක් තෝරාගෙන ඇත. (i) කොටසේ පහසුතාව 60%ක් වේ. එම කොටසින් දැනුම පදනම් කරගෙන, අසා ඇති රජවරුන් නම් කිරීම අපේක්ෂා කෙරේ. (ii) කොටසේ එක් එක් අනුකොටස්වල පහසුතා 75%ක්, 42%ක්, 60%ක් හා 86%ක් වේ. (iii), (iv) කොටස්වල පහසුතා පිළිවෙළින් 46%ක් සහ 29%ක් වේ. පෙළ පොතේ ඇති විස්තරාත්මක තොරතුරු අතුරින් සුවිශේෂ කරුණු ගොනුකර ගැනීමට නොහැකි වීම හා ඒවා පැහැදිලි කිරීම දුර්වල මට්ටමක පැවතීම නිසා උපයාගත හැකි ලකුණු ගිලිහී ගොස් ඇති බව දක්නට ඇත.

(ii) *D* අනුකොටසට අදාළ විෂය කරුණු ප්‍රිය කිරීමට සිසුන් පෙලඹීම නිසා එම කොටසට පිළිතුරු සැපයූ සිසුන් ඉහළ සාධනයක් ලබා ඇත. ඒ අනුව එළඹිය හැකි නිගමනය වන්නේ විවිධ තොරතුරු කතාන්දර රටාවට අනුව ප්‍රියකරවීම සඳහා චරිත හා සිද්ධි මතු කර දැක්වීමේ ක්‍රම අනුගමනය කිරීම අවශ්‍ය බවයි. භූමිකා රංගන වේදිකා නාට්‍ය නිර්මාණ තුළින් සිසු රුචිය වැඩි කිරීම කළ හැකිය. ශ්‍රී ලංකාවේ බටහිර ජාතීන්ගේ පාලනය හා ඔවුන් අතර පැවති ක්‍රියාකාරකම් වගුගත කිරීම, ප්‍රදර්ශනය කිරීම හා ඉගෙනුම් උපකරණ නිර්මාණය කිරීම මගින් සිසුන් දිරිමත් කළ හැකිය.

6 ප්‍රශ්නය

06. අපේක්ෂණය : මෙරට බ්‍රිතාන්‍ය පාලන සමයේ අග භාගයේ ආරම්භ වූ සමාජ, සංස්කෘතික හා ආර්ථික වෙනස්වීම්වල ස්වභාවය හා ඉන් අත් වූ ප්‍රතිඵල පිළිබඳ දැනුම හා අවබෝධය විමසීම

**6.** 'මෙරට බ්‍රිතාන්‍ය පාලන සමයේ අග භාගයේදී ආරම්භ වූ සමාජ, සංස්කෘතික හා ආර්ථික වෙනස්කම් නිදහස ලැබීමෙන් පසු තවදුරටත් වර්ධනය විය.'

(i) පහත *A, B* හා *C* වලින් දක්වෙන එක් එක් කරුණට අදාළ පිළිතුර වරහන් තුළින් තෝරා අනුපිළිවෙළින් ලියා දක්වන්න.

*A* - වතු කම්කරුවන්ගේ අයිතිවාසිකම් වෙනුවෙන් කටයුතු කිරීමේ දී මුලින් ම නායකත්වය දීම

*B* - නාගරික කම්කරුවන්ගේ අයිතිවාසිකම් වෙනුවෙන් කටයුතු කිරීමේ දී මුලින් ම නායකත්වය දීම

*C* - අයිතිවාසිකම් දිනා ගැනීම සඳහා කම්කරුවන් ආරම්භ කළ මුල් ම වැඩ වර්ජනය

(ආචාර්ය එන්.එම්. පෙරේරා, නඩේසර් අයියර්, ආචාර්ය කොල්වින් ආර්. ද සිල්වා, ඒ.ඊ. ගුණසිංහ, වැල්ලවත්ත රෙදි මෝල්ලේ වැඩ වර්ජනය, කොළඹ මුද්‍රණකරුවන්ගේ වැඩ වර්ජනය) *(ලකුණු 03 යි)*

(ii) පහත *A, B, C* හා *D* වලින් දක්වෙන එක් එක් කරුණ හා සම්බන්ධ පුද්ගලයා කවුරුන්දැ'යි අනුපිළිවෙළින් ලියා දක්වන්න.

*A* - පානදුරාවාදය පැවැත්වීමෙන් බෞද්ධ පුනර්ජීවයක් ඇති කිරීමට පුරෝගාමී වූ භික්ෂුන් වහන්සේ

*B* - ශ්‍රී ලංකාවට පැමිණ බුදු දහම වැළඳ ගෙන මෙරට බෞද්ධ අධ්‍යාපනයේ දියුණුවට පදනම දැමූ ඇමෙරිකානු ජාතිකයා

*C* - යාපනයේ හින්දු විද්‍යාලය ආරම්භ කරමින් හින්දු පුනර්ජීවයක් ඇති කිරීමට පුරෝගාමී වූ පුද්ගලයා

*D* - මුස්ලිම් ජනතාවගේ අධ්‍යාපනයේ දියුණුව සඳහා මරදානේ සහිරා විද්‍යාලය ආරම්භ කළ පුද්ගලයා *(ලකුණු 04 යි)*

(iii) ආචාර්ය සී.ඩබ්ලිව්.ඩබ්ලිව්. කන්නන්ගර මැතිතුමා විසින් මෙරට අධ්‍යාපනයෙහි දියුණුවට සිදු කළ සේවාව කරුණු **දෙකක්** ඇසුරෙන් විස්තර කරන්න. *(ලකුණු 05 යි)*

(iv) සහලින් රට ස්වයංපෝෂිත කිරීම සඳහා නිදහසින් පසුව ශ්‍රී ලංකාව විසින් අනුගමනය කරන ලද ක්‍රියා මාර්ග **තුනක්** නිදසුන් දක්වමින් පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

(6) (i) *A* - නඩේසර් අයියර්
*B* - ඒ.ඊ. ගුණසිංහ
*C* - කොළඹ මුද්‍රණකරුවන්ගේ වැඩ වර්ජනය

(ලකුණු 1 × 3 = 03)

(ii) *A* - මිගෙට්ටුවත්තේ ගුණානන්ද හිමි/මොහොට්ටිවත්තේ ගුණානන්ද හිමි
*B* - කර්නල් හෙන්රි ස්ටීල් ඕල්කට්තුමා/ ඕල්කට්තුමා
*C* - ශ්‍රී. ල. ශ්‍රී ආරුමුග නාවලර්තුමා
*D* - එම්.සී. සිද්දිලෙබ්බේ මහතා/ මුහම්මද් සිද්දිලෙබ්බේ මහතා

(ලකුණු 1 × 4 = 04)

(iii) අනිවාර්ය නිදහස් අධ්‍යාපනය ලබා දීම
- ★ මධ්‍ය විද්‍යාල ආරම්භ කිරීම
- ★ මව්බසින් අධ්‍යාපනය ලබා දීම
- ★ දිවා ආහාර ලබා දීමේ වැඩ සටහන්
- ★ ගුරු පුහුණුව සඳහා විශේෂ ආයතන ආරම්භ කිරීම
- ★ දෙවන බස ඉංග්‍රීසි කිරීම

කරුණු දෙකට ලකුණු 02
විස්තර කිරීමට ලකුණු 03
මුළු ලකුණු = 05

(iv) වී සඳහා සහතික මිල ක්‍රමයක් හඳුන්වා දීම
- ★ වී පර්යේෂණ ආයතන පිහිටුවීම
(බතලගොඩ, මහ ඉලුප්පල්ලම, බෝඹුවල, හිඟුරක්ගොඩ)
- ★ වී ගොවියන් සඳහා ණය පහසුකම් ලබා දීම
- ★ ගොවිජන සේවා මධ්‍යස්ථාන පිහිටුවීම

★ මහවැලි යෝජනා ක්‍රමය ආරම්භ කිරීම/ ජල සම්පාදන යෝජනා ක්‍රම ඇරඹීම
★ පොහොර සහනාධාර ලබා දීම
★ ගොවි රක්ෂණ ක්‍රම හඳුන්වා දීම/ ගොවි විශ්‍රාම වැටුප් ක්‍රමය
★ බැංකු ණය ලබා දීම

කරුණු තුනකට ලකුණු 03
විස්තර කිරීමට ලකුණු 03
මුළු ලකුණු = 06

6 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




6 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ 45%ක් පමණි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමිවේ. ඉන් ලකුණු 00 - 04 ප්‍රාන්තරයේ 42%ක් ද, ලකුණු 05 - 09 ප්‍රාන්තරයේ 33%ක් ද, ලකුණු 10 - 13 ප්‍රාන්තරයේ 15%ක් ද, ලකුණු 14 - 18 ප්‍රාන්තරයේ 10%ක් ද, ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 10%ක් වන අතර 42%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට කොටස් හා අනුකොටස් 9ක් අයත් වේ. ඒවා අතුරෙන් පහසුතාව වැඩිම අනුකොටස (ii) *B* වන අතර එහි පහසුතාව 58%කි. එසේම පහසුතාව අඩුම කොටස් වන්නේ (iv) ය. එහි පහසුතාව 37%කි.

ශ්‍රී ලංකා ඉතිහාසය කොටසින් 45%ක් එනම් අඩුවෙන්ම තෝරා ගත් ප්‍රශ්නය වන මෙම ප්‍රශ්නය මෙරට බ්‍රිතාන්‍ය පාලන සමයේ අගභාගයේ සමාජ ආර්ථික පසුබිම ඇසුරින් සැකසී ඇත. මෙහි එක් එක් කොටසෙහි හා අනුකොටසෙහි පහසුතාව 37% සිට 58% දක්වා මධ්‍යම මට්ටමක විසිර පවතී. දී ඇති පිළිතුරු ගොනුවක් අතරින් නිවැරදි සිද්ධියට ගැළපෙන පිළිතුරු තේරීම, බ්‍රිතාන්‍ය පාලන සමයේ ඉතා වැදගත් චරිත පිළිබඳ දැනුම ප්‍රදර්ශනය කිරීම, ජාතික වශයෙන් වැදගත් චරිත හා ඔවුන්ගේ සේවාව කරුණු වශයෙන් විස්තර කිරීම ආදියට මෙම ප්‍රශ්නය මගින් අවකාශ ලැබිණි. නිදහසින් පසු මේ දක්වා ගන්නා ලද ක්‍රියාමාර්ග (iv) කොටසට පිළිතුරු වශයෙන් අසා තිබිණි.

නිදහස් චතුරස්‍රය ආශ්‍රිත කෞතුකාගාරය හා අනෙකුත් විවිධ ස්ථානවල පිහිටුවා ඇති කෞතුකාගාර ක්ෂේත්‍ර චාරිකාවලදී අධ්‍යයනය කිරීමට අවස්ථා සැලසිය හැකිය. සුවිශේෂී පුද්ගල ඡායාරූප, පුවත්පත් වාර්තා, නිදහස් දින වැඩසටහන් ඇසුරින් කරුණු රැස් කිරීම, ජාතික වීරුවන් සැමරුම් දින ආදිය ඇසුරින් රැස් කරගන්නා තොරතුරු ඉතිහාසය විෂය කාමරයෙහි රැස්කර ප්‍රදර්ශනය කිරීමට සිසුන් යොමු කළ හැකිය. නිරන්තරයෙන් අසන්නට දකින්නට ලැබෙන විෂය ආශ්‍රිත තොරතුරු පිළිබඳව සිසුන් තුළ විමසිලිමත් බවක් ඇති කිරීම අවශ්‍ය වේ. පෙළපොතට අමතරව අතිරේක පොතපත ද පරිහරණයට සිසුන් යොමුවීම තුළින් දැනුමෙහි නිම් වළලු පුළුල් කර ගැනීමට අවස්ථාව ලැබේ.

## III කොටස

### 7 ප්‍රශ්නය

07. අපේක්ෂණය : පැරණි ඉන්දියාවේ දේශපාලන හා සංස්කෘතික අභිවර්ධනයට මුල් වූ පාලකයන් හා ඔවුන්ගේ කාර්ය සංසිද්ධි පිළිබඳ දැනුම හා අවබෝධය විමසීම

**7.** (i) යාබද සිතියමෙහි

*A* - වලින් දක්වෙන කඳුවැටියෙහි නම ද

*B* - වලින් දක්වෙන තොටුපළෙහි නම ද

*C* - වලින් දක්වෙන ගංගාවෙහි නම ද අනුපිළිවෙළින් ලියා දක්වන්න.

(ලකුණු 03 යි)




(ii) පහත *P, Q, R* හා *S* වලින් දක්වෙන එක් එක් කරුණට අදාළ පිළිතුර වරහන් තුළින් තෝරා අනුපිළිවෙළින් ලියා දක්වන්න.

*P* - වයඹ දිග ඉන්දියාව ආක්‍රමණය කළ ප්‍රථම ග්‍රීක අධිරාජයා

*Q* - ආර්යයන් ඉන්දියාවට පැමිණෙන විට එහි තිබූ පැරණි ශිෂ්ටාචාරය

*R* - අශෝක අධිරාජයා විසින් සටන් කොට යටත් කර ගනු ලැබූ අවසාන ඉන්දියානු ප්‍රදේශය

*S* - සමුද්‍රගුප්ත රජුගේ අධිරාජ්‍යයේ ව්‍යාප්තිය පිළිබඳ තොරතුරු ඇතුළත් ප්‍රධාන මූලාශ්‍රය

(අලහබාද් ප්‍රශස්තිය, රඝු වංශය, සෙලියුකස් නිකේටර්, වංග දේශය, කාලිංග දේශය, මහා ඇලෙක්සැන්ඩර්, ඉන්දු නදී, සුමේරියානු)

(ලකුණු 04 යි)

(iii) මගධ ජනපදය අධිරාජ්‍යයක් බවට පත් කිරීම සඳහා බිම්බිසාර රජතුමා විසින් අනුගමනය කරන ලද ක්‍රියා පිළිවෙළ කරුණු **දෙකක්** ඇසුරෙන් විස්තර කරන්න. (ලකුණු 05 යි)

(iv) අශෝක අධිරාජයාගේ ආගමික සේවාව කරුණු **තුනක්** ඇසුරෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

(7) (i) *A* - හිමාලය කඳුවැටිය/ හිමාලය

*B* - තාම්‍රලිප්ත තොටුපල

*C* - ක්‍රිෂ්ණා තුංගභද්‍ර/ ක්‍රිෂ්ණා ගඟ

(ලකුණු 1 × 3 = 03)

(ii) *P* - මහා ඇලෙක්සැන්ඩර්

*Q* - ඉන්දු නදී

*R* - කාලිංග දේශය

*S* - අලහබාද් ප්‍රශස්තිය

(ලකුණු 1 × 4 = 04)

(iii)
- ★ විවාහ සබඳතා මඟින් (කාසි රාජ්‍යය ලබා ගැනීම)
- ★ යුද්ධ කිරීම මඟින් (අංග රාජ්‍යය අල්ලා ගැනීම)
- ★ ආගමික සහනශීලි ප්‍රතිපත්තියක් අනුගමනය කිරීම
- ★ මිත්‍ර සම්බන්ධතා මඟින් (ගාන්ධාර හා අවන්ති දේශය සමඟ)

කරුණු දෙකට ලකුණු 02
විස්තර කිරීමට ලකුණු 03
මුළු ලකුණු = 05

(iv) ★ තුන්වන ධර්ම සංගායනාව පැවැත්වීම
★ ධර්මදූත සේවාව
★ ධර්ම මහාමාත්‍යවරුන් පත් කිරීම
★ වෙහෙර විහාර විශාල සංඛ්‍යාවක් ඉදි කිරීම
★ විවිධ ආගම්වලට අනුග්‍රහ දැක්වීම
★ තම දරුවන් ආගමික සේවාව සඳහා යොමු කිරීම

කරුණු දෙකට ලකුණු 03
විස්තර කිරීමට ලකුණු 03
මුළු ලකුණු = 06

7 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




7 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ 77%ක් පමණි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමිවේ. ඉන් ලකුණු 00 - 04 ප්‍රාන්තරයේ 33%ක් ද, ලකුණු 05 - 09 ප්‍රාන්තරයේ 31%ක් ද, ලකුණු 10 - 13 ප්‍රාන්තරයේ 21%ක් ද, ලකුණු 14 - 18 ප්‍රාන්තරයේ 15%ක් ද, ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 15%ක් වන අතර 33%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට කොටස් හා අනුකොටස් 9ක් ඇත. ඒවා අතුරෙන් පහසුතාව වැඩිම අනුකොටස (ii) $R$ වන අතර එහි පහසුතාව 84%කි. එසේම පහසුතාව අඩුම අනුකොටස වන්නේ (i) $B$ ය. එහි පහසුතාව 22%කි.

ලෝක ඉතිහාසය කොටසින් වැඩිම එනම් 77%ක් තෝරාගත් ප්‍රශ්නය වන මෙය සැකසී ඇත්තේ පැරණි ඉන්දියාවේ පාලනය පිළිබඳව ය. (i) කොටසෙහි දී ඇති සිතියම ආශ්‍රිතව හිමාල කඳුවැටිය 66%ක් නිවැරදිව හඳුනාගත්ත ද තොටුපල හා ගංගාව නිවැරදිව හඳුනාගෙන ඇත්තේ 22%ක් හා 25%ක් පමණි. (ii) හි අනුකොටස්වල පහසුතා 63% සිට 84% දක්වා ඉහළ මට්ටමක විසිරී ඇත. මෙහිදී දී ඇති පිළිතුරු ගොනුවෙන් සිද්ධියට අදාළ පිළිතුරු තේරීම මගින් අයදුම්කරුවන් තම හැකියාව ප්‍රදර්ශනය කර ඇත. (iii) හා (iv) යටතේ අසා ඇති ක්‍රියාමාර්ග හා දී ඇති ශීර්ෂ යටතේ කෙටියෙන් විස්තර කිරීමට පිළිවෙළින් 42%ක් හා 50%ක් ලෙස පහසුතා ප්‍රදර්ශනය කර ඇත.

භූගෝලීය ලක්ෂණ සහ ඓතිහාසික සිද්ධි සමග සම්බන්ධ ස්ථාන සිතියම්වල ලකුණු කර නම් කිරීමේදී හා චරිතවල වැදගත්කම ප්‍රකාශ කිරීමේදී ඊට බලපෑ සාධක පෙළගැස්වීමට ගුරු සහය ලබා දිය හැකිය. අදාළ තේමාවලට ගැළපෙන වාර්තා, චිත්‍රපට, වීඩියෝ පට, වැඩසටහන් ගුරු මගපෙන්වීමක් ඇතිව නැරඹීමට අවස්ථාව ලබාදීම තුළින් සිසුන් තව තවත් දිරිමත් කළ හැකිය.

8 ප්‍රශ්නය

08. අපේක්ෂණය : ඉන්දියාවේ ඉතිහාසය හා සංස්කෘතිය වෙනස් කිරීමෙහි ලා එරට මුස්ලිම් බල ව්‍යාප්තිය තීරණාත්මක සාධකයක් වූ ආකාරය පිළිබඳ තුලනාත්මක අවබෝධය විමසීම

**8.** 'මුස්ලිම් බල ව්‍යාප්තිය ඉන්දියානු ඉතිහාසයේ වැදගත් කඩඉමක් වන අතර, එයට එරෙහි වූ දේශපාලන බලවේගයන් ද ඉන්දියාව තුළ බිහිවිය.'

(i) මහම්මත්තුමාගේ මරණින් පසු මුස්ලිම් බලය ව්‍යාප්ත වූ යුරෝපීය රටවල් **තුනක්** නම් කරන්න. *(ලකුණු 03 යි)*

(ii) පහත *A, B, C* හා *D* යටතේ අසා ඇති තොරතුරුවලට අදාළ පිළිතුරු වරහන් තුළ දී ඇති ඒවායින් තෝරා අනුපිළිවෙළින් ලියා දක්වන්න.

*A* - ක්‍රි.ව. 8 වන සියවසේ දී මුල්වරට මුස්ලිම් ආක්‍රමණ එල්ල වූ ඉන්දියානු ප්‍රදේශයක්

*B* - සස්නි මහමුද් ඉන්දියාවට ආක්‍රමණ එල්ල කිරීමේ ප්‍රධාන අරමුණ

*C* - දිල්ලි වහල් රාජවංශයේ ආරම්භක පාලකයා

*D* - ඉන්දියාවේ මුස්ලිම් පාලකයින් විසින් ඉස්ලාම් නොවන අනෙකුත් ආගමිකයන්ගෙන් එම ආගම් ඇදහීම වෙනුවෙන් අය කරන ලද බද්ද හැඳින් වූ නම

(මුල්තාන්, පංජාබ්, ධනය කොල්ලකෑම, බලය ව්‍යාප්ත කිරීම, කුටුබ් - උද්දීන් - අයිබෙක්, සූර් මුහම්මද්, ජෙසියා, කරාජ්) *(ලකුණු 04 යි)*

(iii) මෝගල් අධිරාජ්‍යය තුළ සිය බලය තහවුරු කරගැනීම සඳහා මහා අක්බාර් රජු අනුගමනය කළ ක්‍රියාමාර්ග **දෙකක්** කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 05 යි)*

(iv) ඉන්දියාවේ බලවත් ව පැවති විජයනගර් හින්දු අධිරාජ්‍යය පිළිබඳ ව පහත සඳහන් ශීර්ෂ යටතේ කෙටි විස්තරයක් කරන්න.

*(a)* පිහිටීම

*(b)* ප්‍රමුඛ පාලකයෝ

*(c)* සිදු වූ සේවාව *(ලකුණු 06 යි)*

අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

(8) (i) - ස්පාඤ්ඤය
- තුර්කිය
- ප්‍රංශය

**(ලකුණු 1 × 3 = 03)**

(ii) *A* - මුල්තාන්
*B* - ධනය කොල්ලකෑම
*C* - කුටුබ් - උද්දීන් අයිබෙක්
*D* - ජෙසියා

**(ලකුණු 1 × 4 = 04)**

(iii) ★ ආගමික සහනශීලිතාව
★ ජෙසියා බද්ද අහෝසි කිරීම
★ පරිපාලනය ක්‍රමවත් කිරීම
★ රාජ්පුත්වරුන් කෙරෙහි අනුගමනය කළ ප්‍රතිපත්තිය

**ක්‍රියාමාර්ග දෙකට ලකුණු 02**
**විස්තර කිරීමට ලකුණු 03**
**මුළු ලකුණු = 05**

(iv) *(a)* පිහිටීම **(ලකුණු 01)**
★ ක්‍රිෂ්ණා තුංගභද්‍රා නදී නිම්නයේ හා ඉන් දකුණේ විශාල ප්‍රදේශයක ව්‍යාප්ත වීම විජයනගර් පාලන මධ්‍යස්ථානය විය.

*(b)* ප්‍රමුඛ පාලකයෝ **(ලකුණු 01)**
★ හරිහර හා බුක්ක ආරම්භක පාලකයන් වීම
★ I ක්‍රිෂ්ණ දේවරාය බලවත්ම පාලකයා වීම

(c) සිදු වූ සේවාව (ලකුණු 01)

- ★ මුස්ලිම් ආධිපත්‍යය ඉන්දියාවේ දකුණු දිග පෙදෙස් කරා ව්‍යාප්ත වීම වැළැක්වීම
- ★ හින්දු සංස්කෘතිය රැක ගැනීම
- ★ තෙලගු සාහිත්‍යයේ දියුණුවට කටයුතු කිරීම
- ★ විජයනගර් ගෘහ නිර්මාණ ශිල්පයේ දියුණුවට කටයුතු කිරීම

**(පිහිටීම, ප්‍රමුඛ පාලකයෝ සහ සිදු වූ සේවාව ඇතුළත් පිළිතුරට ලකුණු 06)**

8 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




8 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ 42%ක් පමණි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමිවේ. ඉන් ලකුණු 00 - 04 ප්‍රාන්තරයේ 67%ක් ද, ලකුණු 05 - 09 ප්‍රාන්තරයේ 21%ක් ද, ලකුණු 10 - 13 ප්‍රාන්තරයේ 8%ක් ද, ලකුණු 14 - 18 ප්‍රාන්තරයේ 4%ක් ද, ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 4%ක් වන අතර 67%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට කොටස් හා අනු කොටස් 9ක් ඇත. ඒවා අතුරෙන් පහසුතාව වැඩිම අනුකොටස (ii) *D* වන අතර එහි පහසුතාව 61%කි. එසේම පහසුතාව අඩුම කොටස වන්නේ (i) වේ. එහි පහසුතාව 13%කි.

ඉන්දියාවේ ඉතිහාසය හා මුස්ලිම් බල ව්‍යාප්තිය ඇසුරින් සැකසුණු මෙම ප්‍රශ්නය සඳහා 42%ක් වන අඩු තෝරා ගැනීමක් දක්නට ඇත. (ii) හි අනුකොටස්වලට පිළිවෙළින් 34%ක්, 48%ක්, 54%ක් හා 61%ක් ලෙස යම් තරමක පහසුතා ප්‍රදර්ශනය කළත් (i), (iii) හා (iv) සඳහා පහසුතා ඉතා අඩු මට්ටමක පවතී. පිළිතුරු ගොනුවක් ඇසුරින් පිළිතුරු තේරීමටත් හුරුපුරුදු වදන් හා ප්‍රසිද්ධ චරිත සිහියට නංවා ගත හැකි වීම තුළින් (ii) හි අනුකොටස්වලට පිළිතුරු සැපයීමටත් හැකිවීම නිසා තරමක සාර්ථකත්වයක් ලබාගෙන ඇත. (i) කොටසට මුස්ලිම් බලය ව්‍යාප්ත වූ රටවල් පිළිබඳ නොදැන සිටීම, (iii) කොටසට අසන ලද ප්‍රධාන චරිතය වටා ගෙතුන සිද්ධි හා වැදගත් ක්‍රියාමාර්ග විස්තර කිරීමට අපොහොසත් වීම නිසා පහසුතා අඩුවී ඇත. එසේම (iv) හි අනුකොටස්වලට දී ඇති ශීර්ෂ යටතේ ඓතිහාසික සිද්ධි පිළිබඳව කෙටි විස්තරයක් කිරීමත් විෂය කරුණු විශ්ලේෂණාත්මකව ඉදිරිපත් කිරීමත් දුර්වල වීම නිසා පහළ සාධනයක් දක්වා ඇත.

සමස්ත විෂය කරුණු සාකච්ඡාවට යොමු වීම හා විශේෂ කරුණු සාරාංශ කිරීමට හුරු කිරීම, පිළිවෙළින් කාල වකවානු අනුව රාජ්‍ය හා රජවරු, ඔවුන් අනුගමනය කළ ක්‍රියාමාර්ග ලැයිස්තුගත කිරීම, වගුගත කිරීම හා ප්‍රදර්ශනය කිරීම, ඉතිහාසගත කරුණු සරලව මතකයේ ධාරණය කර ගැනීමට සිසුන්ට රුකුලක් වේ. තවද එම විස්තරාත්මක කරුණු විශ්ලේෂණය කර ඉදිරිපත් කිරීම හා ගොනු කිරීම ආදියට සිසුන් දිරිමත් කළ හැකිය.

9 ප්‍රශ්නය

09. අපේක්ෂණය : ජපානයේ වර්තමාන දේශපාලන හා ආර්ථික වර්ධනය කෙරෙහි බල පෑ ඓතිහාසික පසුබිම පිළිබඳ තුලනාත්මක අවබෝධය පිරික්සීම

**9.** විවිධ බාධක ජයගනිමින් ජපානය වර්තමානයේ දී ඉහළ මට්ටමේ දියුණුවක් ළඟා කර ගෙන ඇත.

(i) පහත *A*, *B* හා *C* වලින් දක්වෙන එක් එක් කරුණට අදළ පිළිතුර වරහන් තුළින් තෝරා අනුපිළිවෙළින් ලියා දක්වන්න.

*A* - ජපානය එක්සත් කිරීමටත්, සාමය හා ස්ථාවරත්වය ගොඩ නැගීමටත් පදනම දැමූ පුද්ගලයා

*B* - ජපානයේ වැඩ වසම් සමයේ දී සමාජයේ පහළ මට්ටමක සිට, ටොකුගාවා ෂෝගුනේට් පාලනය යටතේ පාලකයන් බවට පත් වූ පිරිස

*C* - වර්තමාන ජපාන පාර්ලිමේන්තුව හැඳින්වෙන නාමය

(නොබුනගා, යුවාං-ෂි-කායි, සමුරායිවරු, ඩයිම්යෝවරු, නෙසව්, ඩයට්) *(ලකුණු 03 යි)*

(ii) ටොකුගාවා ෂෝගුන්වරුන් යටතේ ජපානයේ කෘෂිකර්මය සම්බන්ධයෙන් සිදු වූ වෙනස්කම් **දෙකක්** සඳහන් කරන්න. *(ලකුණු 04 යි)*

(iii) මෙයිජි පාලන කාලය තුළ දී ජපානය නව ආර්ථික රටාවකට යොමු වූ ආකාරය කරුණු **දෙකක්** යටතේ පෙන්වා දෙන්න. *(ලකුණු 05 යි)*

(iv) ජපානය ආසියාතික රටවල තම බලය ව්‍යාප්ත කළ ආකාරය නිදසුන් ඉදිරිපත් කරමින් පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

(i) *A* - නොබුනගා
*B* - ඩයිම්යෝවරු
*C* - ඩයට්

(ලකුණු 1 × 3 = 03)

(ii)
- වගා බිම් ව්‍යාප්ත කිරීම
- නව බෝග වර්ග හඳුන්වා දීම
- ගොවීන් පොහොර භාවිතයට උනන්දු කරවීම
- කෘෂි කටයුතු සඳහා නව යන්ත්‍ර සූත්‍ර හා උපකරණ භාවිතයට යොමු කිරීම
- කෘෂි පාදක කර්මාන්ත සඳහා අවශ්‍ය වන බෝග වගා කිරීම (මල්බෙරි, කපු, උක්, දුම්කොළ)

(ලකුණු 2 × 2 = 04)

(iii)
★ විවෘත ආර්ථික ප්‍රතිපත්තියක් අනුගමනය කිරීම
★ වාණිජවාදී ආර්ථික රටාවකට යොමු වීම
★ ආර්ථික සංවර්ධනයට අවශ්‍ය යටිතල පහසුකම් දියුණු කිරීම (දුම්රිය මාර්ග, මහා මාර්ග, පණිවුඩ හුවමාරුව, නැව් තටාකාංගන ........)
★ බැර කර්මාන්ත කෙරෙහි විශේෂ අවධානය යොමු කිරීම
උදා: මිට්සුයි හා මිට්ෂුබිසි සමාගම් ආරම්භ වීම

කරුණු දෙකට ලකුණු 02
විස්තර කිරීමට ලකුණු 03
මුළු ලකුණු = 05

(iv)
★ ආසියාතික රටවල ජපන් බල ව්‍යාප්තියේ අරමුණ ලෙස සැලකිය හැක්කේ වෙළෙඳපොළ ලබා ගැනීම හා ආරක්ෂාව හා සම්බන්ධ කරුණු ය.
- මේ සඳහා අසල්වැසි රුසියාව, චීනය සමඟ බල අරගලයක යෙදුණු බැව් පෙනේ.
- මුලින්ම කොරියාව අල්ලා ගැනීම
- මැංචූරියාවේ දකුණු කොටස අල්ලා ගැනීම

- මේ අවස්ථාවලදී චීන හා රුසියන් විරෝධතාවලට මුහුණදීමට සිදුවීම
- I ලෝක මහා යුධ සමයේදී ජර්මානුවන් සතුව තිබූ පැසිපික් දූපත් අල්ලා ගැනීම
- II ලෝක මහා යුධ සමයේදී ජපන් බල ව්‍යාප්තියේ උච්චතම අවස්ථාව එළඹීම
  - තායිලන්තය, බුරුමය, මලයාසියාව, සිංගප්පූරුව හා පෙරදිග ඉන්දියා දූපත් (ඉන්දුනීසියාව) අල්ලා ගැනීම
- II ලෝක මහා සංග්‍රාම පරාජයෙන් පසුව ජපානයේ බල ව්‍යාප්තිය අවසන් විය.

**(මෙවැනි කරුණු ඔස්සේ නිදසුන් දෙකක්වත් ඇතුළත් පිළිතුරකට ලකුණු 06යි.)**

**9 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :**




9 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ 31%ක් පමණි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමිවේ. ඉන් ලකුණු 00 - 04 ප්‍රාන්තරයේ 64%ක් ද, ලකුණු 05 - 09 ප්‍රාන්තරයේ 25%ක් ද, ලකුණු 10 - 13 ප්‍රාන්තරයේ 7%ක් ද, ලකුණු 14 - 18 ප්‍රාන්තරයේ 4%ක් ද, ලකුණු ලබාගෙන 14 හෝ ඊට වඩා වැඩියෙන් ලබාගත් පිරිස 4%ක් වන අතර 64%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට කොටස් හා අනුකොටස් 6ක් ඇත. ඒවා අතුරෙන් පහසුතාව වැඩිම අනුකොටස (i) *C* වන අතර එහි පහසුතාව 62%කි. එසේම පහසුතාව අඩුම කොටස වන්නේ (iv) යි. එහි පහසුතාව 15%කි.

ජපානයේ සංවර්ධනය කෙරෙහි ඓතිහාසික බලපෑම පිළිබඳව සැකසුණු මෙම ප්‍රශ්නය 31%ක් වන අවම තෝරා ගැනීමක් තිබුණු ප්‍රශ්නයයි. පිළිතුරු ගොනුවකින් තෝරා පිළිතුර ඉදිරිපත් කිරීමට තිබූ (i) හි අනුකොටස්වලට පිළිවෙළින් 55%ක්, 40%ක් හා 62%ක් ලෙස මධ්‍යස්ථ පහසුතා දක්වා ඇත. (ii), (iii) හා (iv) කොටස්වලට පිළිවෙළින් 33%ක්, 23%ක් හා 15%ක් ලෙස අඩු පහසුතා ප්‍රදර්ශනය කර ඇත්තේ කෘෂිකාර්මික වෙනස්කම්, නව ආර්ථික රටාවකට යොමු වීම හා ආසියාතික බල ව්‍යාප්තිය පිළිබඳ නිදසුන් පැහැදිලි කිරීම, ඒ ඒ වකවානුවල තොරතුරු මතකයට නඟා ගැනීම දුර්වල වීම නිසාය. තවද කරුණු දැක්වීම හා පැහැදිලි කිරීම දුෂ්කර වී ඇති බව දක්නට ඇත.

එක් එක් රටෙහි ඒ ඒ වකවානුව තුළදී සිටි පාලකයා, පැවති පාලන ක්‍රමවේද, සිදුවූ විශේෂ වෙනස්කම් ආදිය හා සුවිශේෂී කරුණු පෙළ ගැස්වීමට හා එවැනි ක්‍රියාකාරකම්වල සිසුන් නිරත කරවීමට අවශ්‍ය වේ. ඉහත ඓතිහාසික තොරතුරු ඇසුරින් ලබා ගත හැකි ආදර්ශ හා නිදසුන් සාකච්ඡා කිරීම තුළින් සිසුන් දක්වන දුර්වලතා අවම කළ හැකිය. තවද ජනගහනයට අයත් ඉතිහාස කරුණු කෙරෙහි වැඩි අවධානයක් යොමු කිරීමත් අවශ්‍ය වේ.

10 ප්‍රශ්නය

10. අපේක්ෂණය : මෑත කාලීන ලෝක දේශපාලන ස්වභාවය හා ලෝක සාමය රැකීමේ ප්‍රයත්න ඇගයීමේ හැකියාව පිරික්සීම

**10.** 'ලෝක මහා සංග්‍රාම නිසා ලෝක දේශපාලනයේ විවිධ වෙනස්කම් සිදුවී ඇත.'

(i) පළමුවන ලෝක මහා සංග්‍රාමයට සම්බන්ධ වූ

*(a)* මිත්‍ර පිළේ රටවල් දෙකක් ද

*(b)* මධ්‍යම බලවතුන්ගේ පිළේ රටවල් එකක් ද

පිළිවෙළින් නම් කරන්න. *(ලකුණු 03 යි)*

(ii) පහත *A*, *B*, *C*, *D* වලින් දක්වෙන එක් එක් කරුණට අදාළ පිළිතුරු අනුපිළිවෙළින් දක්වන්න.

*A* - ප්‍රංශය හා ජර්මනිය අතර යුධ ගැටුමකට තුඩුදුන් යපස් හා ගල්අඟුරුවලින් පොහොසත් ප්‍රදේශය

*B* - හිට්ලර්ගේ රහස් පොලීසිය හැඳින්වූ නාමය

*C* - දෙවන ලෝක මහා සංග්‍රාමය අවසන් කිරීම සඳහා යටත්වීමේ ගිවිසුමට අත්සන් කළ ජපන් අධිරාජයා

*D* - දෙවන ලෝක මහා ගංග්‍රාමයෙන් ආර්ථික පරිහානියට පත් යුරෝපා රටවලට ආධාර ලබාදීමට ඇමෙරිකාවේ මූලිකත්වයෙන් ක්‍රියාත්මක කළ වැඩ පිළිවෙළ *(ලකුණු 04 යි)*

(iii) ලෝක සාමය රැකීමේ අරමුණින් පළමුවන ලෝක මහා සංග්‍රාමයෙන් පසුව පිහිටුවා ගත් ජාතීන්ගේ සංගමය අසාර්ථක වීමට තුඩුදුන් හේතු **දෙකක්** කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 05 යි)*

(iv) එක්සත් ජාතීන්ගේ සංවිධානයට ලෝකයේ ගැටුම් නිරාකරණය කර ගැනීම සඳහා අනුගමනය කළ හැකි ක්‍රියාමාර්ග **තුනක්** පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

(10) (i) (*a*) - මහා බ්‍රිතාන්‍යය, ප්‍රංශය, රුසියාව, ඇ.එ.ජනපදය

(*b*) - ජර්මනිය, ඔස්ට්‍රියාව, ඉතාලිය, තුර්කිය, බල්ගේරියාව, හංගේරියාව

(ලකුණු 1 × 3 = 03)

(ii) *A* - ඇල්සාස්, ලොරේන්

*B* - ගෙස්ටාපෝ

*C* - හිරෝහිතෝ

*D* - මාර්ෂල් සැලැස්ම

(ලකුණු 1 × 4 = 04)

(iii)
- ★ ඇමරිකා එක්සත් ජනපදය ජාතීන්ගේ සංගමයේ සාමාජිකත්වය නොගැනීම
- ★ ජර්මනිය හා රුසියාව වැනි රටවලට සාමාජිකත්වය ලබා නොදීම
- ★ ස්ථාවර හමුදා බලයක් නොමැතිවීම
- ★ ව්‍යවස්ථානුකූලව කටයුතු කිරීමට නොහැකි වූ නිසා ජාතීන්ගේ සංගමය කෙරෙහි සාමාජික රටවල විශ්වාසය බිඳ වැටීම
  උදා: ඉතාලිය ඇබිසිනියාව ආක්‍රමණය කිරීමේදීත්, ජපානය, මැංචූරියාව ආක්‍රමණය කිරීමේදීත් එම ආක්‍රමණ වැළැක්වීමට නොහැකි වීම
- ★ ජාතීන්ගේ සංගමයේ විධායක මණ්ඩලයට තීරණ ගැනීමේ දී එකඟත්වයකට පැමිණීමට නොහැකි වීම.

කරුණු දෙකට ලකුණු 02
විස්තරයට ලකුණු 03
මුළු ලකුණු = 05

(iv) ලෝකයේ ගැටුම් නිරාකරණය කිරීමේ දී එක්සත් ජාතීන්ගේ සංවිධානයට අනුගමනය කළ හැකි ක්‍රියාමාර්ග

- ★ රටවල් අතර ඇතිවන ගැටුම් සමථයකට පත් කිරීම සඳහා මැදිහත් වීම (ආරක්ෂක මණ්ඩලය මඟින් හා සෘජුව මහලේකම්වරයාගේ මැදිහත් වීම මඟින්)

★ ජාත්‍යන්තර අධිකරණයේ මැදිහත් වීම
★ අවි සීමා කිරීමේ ගිවිසුම මඟින් (පරමාණුක බල ශක්ති කොමිසම)
★ ආර්ථික සම්බාධක පැනවීම
★ සාම සාධක හමුදා යැවීම

ක්‍රියාමාර්ග තුනක් සඳහන් කිරීමට ලකුණු 03
විස්තරයට ලකුණු 03
මුළු ලකුණු = 06

**10 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :**




10 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ 42%ක් පමණි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමිවේ. ඉන් ලකුණු 00 - 04 ප්‍රාන්තරයේ 38%ක් ද, ලකුණු 05 - 09 ප්‍රාන්තරයේ 30%ක් ද, ලකුණු 10 - 13 ප්‍රාන්තරයේ 18%ක් ද, ලකුණු 14 - 18 ප්‍රාන්තරයේ 14%ක් ද, ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 14%ක් වන අතර 38%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට කොටස් හා අනුකොටස් 8ක් ඇත. ඒවා අතුරෙන් පහසුතාව වැඩිම අනුකොටස (i) (*a*) වන අතර එහි පහසුතාව 78%කි. එසේම පහසුතාව අඩුම අනුකොටස වන්නේ (ii) *B* ය. එහි පහසුතාව 22%කි.

ලෝක සංග්‍රාම අලළා සැකසී ඇති මෙම ප්‍රශ්නය 42%ක් පිළිතුරු සැපයීමට තෝරාගෙන තිබුණි. මෙහි (i) (*a*), (*b*) හා (ii) *A* අනුකොටස්වලට 78%ක්, 72%ක් හා 67%ක් වැනි ඉහළ පහසුතා ප්‍රදර්ශනය කර ඇත්තේ දැනුම හා මතකය ඇසුරින් පිළිතුරු ලබා දිය හැකි මූලික කරුණු විමසීම නිසාය. නමුත් විෂය දැනුම තුළින් ගැඹුරට යොමු වූ (ii) හි *B*, *C* හා *D* අනුකොටස් 22%ක්, 28%ක් හා 40%ක් ලෙස අඩු පහසුතා දක්වා ඇත. (iii) හා (iv) ඇසුරින් අසා ඇති දැනුම හා සබැඳිව කෙටි විස්තර ලිවීම හා ලෝක සංග්‍රාම වැළැක්වීමට ගත හැකි ක්‍රියාමාර්ග සඳහන් කිරීම සඳහා 42%ක් හා 39%ක් ලෙස සමාන්‍ය පහසුතා දක්වා ඇත. මෙම විෂය කරුණු පිළිබඳව මීට වැඩි සාධනයක් ප්‍රදර්ශනය විය යුතුය.

තොරතුරු මතක තබා ගැනීමට හා ආවර්ජනයට ක්‍රමවේද හඳුන්වා දීමත් ඉතිහාසය විෂය කරුණු අතර පවත්නා බැඳීම පැහැදිලිව වටහා දීමත් අවශ්‍ය වේ. කාලීන පුවත්, සිදුවීම් හා ජාත්‍යන්තර තොරතුරු රැස්කිරීම පුරුද්දක් බවට පත් කිරීම හා ඇගයීමට ලක් කිරීම, සිද්ධි හා සිද්ධිවලට බලපෑ හේතු, කරුණු කිහිපයක් යටතේ විස්තර කිරීමේ හැකියාව ප්‍රගුණ කිරීම, විවෘත ග්‍රන්ථ පරීක්ෂණ සඳහා උනන්දු කරවීම හා සිතියම් ඇසුරු කරගෙන විෂය කරුණු තහවුරු කිරීම හා ඒවා ප්‍රදර්ශනය කිරීම තුළින් ඉහළ සාධනයක් ලබා ගැනීමට සිසුන්ට අවස්ථාවක් ලැබේ.

2.2.3 II ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා




**I කොටස**

මෙම කොටසෙහි ඇති ප්‍රශ්නය අනිවාර්ය ය. එහි (අ) හි (i) අනුකොටස යටතේ ලංකා ඉතිහාසයට අදාළ ඓතිහාසික ස්ථාන 10ක් ද, (ii) අනුකොටස යටතේ ලෝක (යුරෝපය-ආසියාව) ඉතිහාසයට අදාළ ඓතිහාසික ස්ථාන 8ක් ද සපයා ඇති ආකෘති සිතියම්වල ලකුණු කිරීම අපේක්ෂා කෙරිණි. ඒ සඳහා නියමිත ලකුණු පිළිවෙළින් 10 හා 8 ලෙස 18ක් වුව ද සිසු සාධනය සතුටුදායක මට්ටමකට ළඟා වී නොමැත. එහිම (ආ) කොටසට ලකුණු 4 බැගින් ප්‍රදානය කරනු ලබන (i), (ii) හා (iii) යන අනුකොටස් තුනට නියමිත ලකුණු 12කි. අනුකොටස්වල ඇතුළත් කෙටි ප්‍රශ්න 12න් 6ක් ලංකා ඉතිහාසය ද 6ක් ලෝක ඉතිහාසය ද පදනම් කර සැකසී ඇත. සමස්තයක් ලෙස ගත් කළ මෙම (ආ) කොටසට පිළිතුරු සැපයීම සතුටුදායක මට්ටමක පැවතිය ද (අ) (i) හා (ii) අනුකොටස්වලට අදාළ ඓතිහාසික ස්ථාන නිවැරදිව ලකුණු කිරීම හා නම් කිරීම දුර්වල මට්ටමක පැවතිණි.

එබැවින් මේ කුසලතාව වර්ධනය කිරීම සඳහා,

- ★ නිවැරදි ශිල්පීය ක්‍රම භාවිත කර සිතියම් ලකුණු කිරීමේ හුරුවක් ලබා දීම යෝග්‍ය ය.
- ★ ඓතිහාසික ස්ථාන හා සම්බන්ධ තොරතුරු ඉදිරිපත් කිරීම හා සාකච්ඡා කිරීම ද අවශ්‍ය ය.
- ★ ශ්‍රී ලංකාව හා යුරෝපා - ආසියා ප්‍රදේශවල භූගෝලීය පිහිටීම පිළිබඳ අවබෝධයක් ගොඩ නැඟීම (ගංගා, කඳුවැටි, තැනිතලා, කපොලු, වරාය ආදියෙහි පිහිටීම) ඉතිහාසය ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියට වඩාත් රුකුලක් වේ.

**II කොටස**

මෙම කොටසේ ශ්‍රී ලංකා ඉතිහාසයට අදාළ තේමාවලින් ප්‍රශ්න 5ක් ඉදිරිපත් කර තිබුණු අතර අපේක්ෂකයන් ඉන් ප්‍රශ්න 3ක් තෝරාගත යුතුව තිබිණි. 4 ප්‍රශ්නය සිසුන් 53%ක් ද, 6 ප්‍රශ්නය 45%ක් ද, තෝරාගෙන ඇත. 2, 3, 5 යන ප්‍රශ්නවල තෝරා ගැනීමේ ප්‍රතිශතය 70%කට ආසන්න ය.

ශ්‍රී ලංකා ඉතිහාසයේ මධ්‍යකාලීන යුගය පිළිබඳ දේශපාලන, ආර්ථික හා සමාජ සංස්කෘතික තොරතුරු පිළිබඳ දැනුම ප්‍රමාණවත් නොවීමත් මෙරට බ්‍රිතාන්‍ය පාලන සමයේ අගභාගයේ ආරම්භ වූ දේශපාලන සමාජ ආර්ථික සංස්කෘතික ප්‍රවණතා පිළිබඳ දැනුම හා අවබෝධය ප්‍රමාණවත් නොවීමත් මෙයට බලපා ඇති බව පෙනේ. මේ කරුණු පිළිබඳව ලියැවුණු ලිපි, සඟරා, පුවත්පත් හා අතිරේක ආදියෙන් තොරතුරු ලබා ගැනීම සඳහා සිසුන් පෙලඹවීම අවශ්‍ය වේ.

- ★ ඓතිහාසික සිද්ධි අනුපිළිවෙළ ගැළපීම
- ★ කාලයට සාපේක්ෂව ඓතිහාසික සිදුවීම් පෙළ ගැස්වීම
- ★ ඓතිහාසික තොරතුරු විශ්ලේෂණාත්මකව විග්‍රහ කිරීම යන හැකියා වර්ධනය වන අයුරින් ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවර්ධනය කර ගැනීම වැදගත් වේ.
- ★ ශ්‍රී ලංකාවේ දේශපාලන ඉතිහාසයට සම්බන්ධ රාජ නාමාවලිය ඇසුරින් වැදගත් ඓතිහාසික සිද්ධි සම්බන්ධ කෙරෙන වගුවක් සකස් කිරීමෙන් ද මේ සඳහා කිසියම් ආකාරයක පිටිවහලක් ලබා ගත හැකිවේ.
- ★ ඓතිහාසික තොරතුරු අනුසාරයෙන් ගොඩනඟා ගන්නා සංකල්ප සිතියම් (Concept Maps) යොදා ගැනීම තුළින් ද ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සාර්ථක කර ගත හැකිය.

ඉහත ක්‍රියාමාර්ග අනුගමනය කිරීම තුළින් සිසුන්ගෙන් ඉහළ සාධනයක් අපේක්ෂා කළ හැකි වනු ඇත.

**III කොටස**

මෙම කොටස ඉන්දියාව, චීනය, ජපානය හා මධ්‍ය කාලීන යුරෝපය පිළිබඳ ඉතිහාසය ආශ්‍රිත කොටස්වලින් සමන්විතය. ප්‍රශ්න 4කින් 2කට පිළිතුරු සැපයීම අපේක්ෂිත ය. මේ අතුරින් ඉන්දියාව ඇසුරින් ඉදිරිපත් කර ඇති ප්‍රශ්නවලට දක්වා ඇති ප්‍රතිචාර යම් ප්‍රමාණයක සතුටුදායක මට්ටමක පැවතිය ද, ජපානය, චීනය හා මධ්‍යකාලීන යුරෝපය ඇසුරින් ඉදිරිපත් කළ ප්‍රශ්නවලට සිසුන් දැක්වූ ප්‍රතිචාර සතුටුදායක මට්ටමක නැත.

මෙම විෂය කොටස් පිළිබඳ සිසුන් තුළ දැනුම වර්ධනය කිරීම පිණිස අතිරේක පොතපත හා සඟරා සහ වෙනත් මූලාශ්‍ර ඇසුරින් තොරතුරු එක්රැස් කිරීමට සිසුන් පෙලඹවීම සඳහා කේවල හෝ කණ්ඩායම් ක්‍රියාකාරකම් සංවිධානය කිරීම හා සිතියම් ඇසුරින් ඓතිහාසික ස්ථාන හඳුනා ගැනීමට සැලැස්වීමත් උචිත බව නිර්දේශ කළ හැකිය.

## III කොටස

## 3. පිළිතුරු සැපයීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු හා යෝජනා :

### 3.1 පිළිතුරු සැපයීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු :

**පොදු උපදෙස් :**

- ★ ප්‍රශ්න පත්‍රයේ ඇති මූලික උපදෙස් කියවා හොඳින් තේරුම් ගත යුතුය. එනම් එක් එක් කොටසින් කොපමණ ප්‍රශ්න සංඛ්‍යාවකට පිළිතුරු සැපයිය යුතු ද, කුමන ප්‍රශ්න අනිවාර්ය ද, කොපමණ කාලයක් ලැබේ ද, කොපමණ ලකුණු ලැබේ ද, යන කරුණු පිළිබඳව සැලකිලිමත් විය යුතු අතර ප්‍රශ්න හොඳින් කියවා නිරවුල් අවබෝධයක් ඇති කර ගෙන ප්‍රශ්න තෝරා ගත යුතුය.
- ★ I පත්‍රයේ ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේදී නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ පිළිතුර තෝරා ගත යුතුය. තවද පැහැදිලිව එක් කතිර ලකුණක් පමණක් යෙදිය යුතුය.
- ★ II පත්‍රයේ ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේදී සෑම ප්‍රධාන ප්‍රශ්නයක්ම අලුත් පිටුවකින් ආරම්භ කළ යුතුය.
- ★ නිවැරදි හා පැහැදිලි අත් අකුරුවලින් පිළිතුරු ලිවිය යුතුය.
- ★ අයදුම්කරුගේ විභාග අංකය සෑම පිටුවකම අදාළ ස්ථානයේ ලිවිය යුතුය.
- ★ ප්‍රශ්න අංක, කොටස් අංක හා අනුකොටස් අංක නිවැරදිව ලිවිය යුතුය.
- ★ නිශ්චිත කෙටි පිළිතුරු ලිවීමට අවශ්‍ය අවස්ථාවලදී දීර්ඝ විස්තර ඇතුළත් නොකිරීම මෙන්ම විස්තරාත්මක පිළිතුරු සැපයිය යුතු අවස්ථාවලදී කෙටි පිළිතුරු සැපයීම ද නොකළ යුතුය.
- ★ ප්‍රශ්නය අසා ඇති ආකාරය අනුව තර්කානුකූලව හා විශ්ලේෂණාත්මකව කරුණු ඉදිරිපත් කළ යුතුය.

**විශේෂ උපදෙස් :**

- ★ සිතියම් ලකුණු කිරීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු :
  - නගර ලකුණු කිරීමේ දී නිවැරදි ස්ථානය පැහැදිලිව තිත් ලකුණක් යොදා නම් කිරීම
  - රාජධානි හා වැව් ලකුණු කිරීමේ දී නිවැරදි ප්‍රදේශය අඳුරු කර නම් කිරීම
  - ගංගා ලකුණු කිරීමේ දී නිවැරදිව හඳුනාගත හැකිවන ලෙස නම් කිරීම
- ★ අසා ඇති ප්‍රශ්නවලට උචිත පරිදි පිළිතුරු ගොනු කර ඉදිරිපත් කිරීම
- ★ කරුණු දැක්වීම හා ඒවා පැහැදිලි කිරීම, විස්තර කිරීම හෝ සනාථ කිරීම අනුව ප්‍රශ්නවල ලකුණු බර තබා ඇති බව තේරුම් ගැනීම
- ★ ව්‍යුහගත රචනා වර්ගයේදී නිදසුන් සාධක ඉදිරිපත් කළ යුතු වීම
- ★ අනුමාතෘකා සඳහා පිළිතුරු, ඡේද අනුව වෙන් කළ යුතු වීම

### 3.2 ඉගෙනුම් හා ඉගැන්වීම් ක්‍රියාවලිය පිළිබඳ අදහස් හා යෝජනා :

★ ඉගෙනුම් ඉගැන්වීම් හා ඇගයීම් ක්‍රියාවලිය තුළින් ප්‍රතිඵල සංවර්ධනය සඳහා

- ඉගෙනුම් ආධාරක භාවිත කිරීම
- විෂය ක්‍රියාකාරකම් ප්‍රබෝධ ජනක අයුරින් සංවිධානය කිරීම
- ක්ෂේත්‍ර චාරිකා යාමේදී විවිධ විෂය තේමා ආවරණය සඳහා කටයුතු කිරීම
- විශේෂයෙන්ම පෙළපොත පරිහරණය සඳහා යොමු කිරීම
- සිසු නිර්මාණ (විෂයයට අදාළ) පන්තියේ ප්‍රදර්ශනය කිරීම
- බිත්ති පුවත්පත්, සඟරා ආදී සිසු නිර්මාණ සඳහා ඉඩකඩ හා යටිතල පහසුකම් ලබා දීම
- ඉතිහාසය විෂයය සඳහා කාමරයක්/ ප්‍රදේශයක් වෙන් කර සංවර්ධනය කිරීම